# හීන් සැරය



කුමාරතුංග මුනිදාස

# හීන් සැරය

කුමාරතුංග මුනිදාස









ගුණසේන

# පටුන

1. පරිච්ඡේදය

# අලින්නේ අපේ කැරුම්

එද තමා හරි හුළඟ! හුළඟ පමණක් නම් මදෑ ? අතරින් පතර මොර සූරන වැස්ස! මුළු වනය මහ කුණාටුවෙකින් කැළැඹී–ගිය මුහුදක් මෙන් වී ය. හුළඟ ඉතා තද වූ විට එක් මහ ගසෙක් ගොස් තවත් මහ ගසෙක හැපෙයි. එය ගොස් තවත් එකෙක හැපෙයි. මේ හැපීමෙන් බිඳ වැටුණු මහ ගස් ගණන් නැත. එ සේ බිඳ වැටුණු මහ ගසට යට වී කැඩී බිඳී තැළී පොඩි වී ගිය සුළු ගස් ගණන් නැත. ''ලෝක විනාශ වැස්ස වත් ආ දෙහො''යි සිතා මෙන් අපා දෙපා සිවුපා බුහුපා සියලු සත්තු සැහැවුම් ගත්හ.

බිඳ වැටෙන මහ ගස් නිසා යා-ගත නො–හැකිව සිය බිරින්දෑට කිමෙකින් කිමෙක් වී දෑයි තැවි-තැවී තෙමි-තෙමී උන් අලි රාළහාමි සුළඟ වෙහෙසුණු කල්හි, වැසි නැවතුණු කල්හි, සිය නිවෙසට යන්නට පිටත් වි ය. ඒ අතින් බිඳ වැටුණු, මේ අතින් ඇද වැටුණු යට ව පොඩිවුණු ගසින් සියලු මඟ ඇවිරී ගියේ ය. තිරිසන් බලය නොතුබුණේ

නම් අලි හාමිට ගෙදර යාමෙක් නො ලැබේ. ඒ තිරිසනෙකි. එ පමණෙක් ම නො වේ. මහ අලියෙකි. එ හෙයින් ඇද්ද යුතු දේ ඇද, බින්ද යුතු දේ බිඳ, කැඩිය යුතු දේ කඩා, පොඩි කළ යුතු දේ පොඩි කොට, කෙසේ නමුත්, හේ බිරින්දෑ ළඟට ගියේය.

'ලෝකයට කිමෙක් වී දෙහො'යි බලන පිණිස මෙන් ගෝණ හාමි ද ඒ අසලට පැමිණියේ ය. ඒ වෙන ද ඔහුට පුරුදු ලෝකය නොවේ; කැඩුණු බිඳුණු පොඩි වුණු ලෝකයෙකි. ගෝණ හාමි තමා ගේ අලුත් අං තට්ටුව සලන්නට වූයේ ය. 'අනේ මේ කා ගේ කැරුමෙක් ද' යනු ඔහු ගේ කටින් නිකම් ම පිට විය.

අලියා බිඳ–ලූ අත්තෙක ඒ අත මේ අත යෙමින් හිස වනමින් සිටි කවුසු හාමිට ගෝණ හාමි ගේ බස ඇසුණේ ය. හේ තව–තවත් හිස වනන්නට වූයේ ය. 'අනේ, මේ මෝඩයාට මෙ තරම් දෙයකුත් තේරෙන්නේ නෑ නොවැ' යි කියන්නාක් මෙන් හිස වනන්නට වූයේ ය. හොඳට ම හිස වනා මෙසේ ද කී ය:–

'ඇයි, දන්නේ නැද්ද?'

ගෝණ හාමිට හඬ ඇසුණා පමණෙකි. හඬ නැඟූ අය නො පෙනුණේ ය. ගෝණ හාමි දස අත බලන්නට වූයේ ය.

'ඇයි දන්නෙ නැද්ද?'



දෙවෙනි වර ද මෙ සේ කී කල ගෝණ හාමි කෙළින් ම බලා කටුසු හාමි හැඳින–ගත්තේ ය.

'හා, ඒ ඔබ ද? අනේ කටුසු හාමි, මේ ලෝකය පොඩි වැ–ලා නොවැ? මේ කාගෙ කැරුම් ද?'

ගෝණ හාමි මෙ සේ කියා තමා ගේ අං තට්ටුවේ අලංකාරය පෙන්වන්නට මෙන් හිස ඔසොවා කටුසු හාමි දෙස බැලී ය. කටුසු හාමි හිස වනමින්, ගෝණ හාමි ගේ අං තට්ටුවේ දලු ගණන් කරන්නාක් මෙන් බලා සිට, මෙ සේ කීයේ ය:–

'ඇයි දන්නේ නැද් ද? අලින්නේ අපේ කැරුම නොවැ?'

ගෝණ හාමි මහත් කොට සිනාසුණේ ය. මෙ සේ ද කී ය:—

'අලි රාලහාමිට නම් මේ මහ කාරියෙක් නො වෙයි. රාලහාමි මහ සැර කාරයා බව කවුරුත් දනිති. එහෙත් ඔබ-වැනි කුඩාවකුට මේ මහ ගහක් තබා කුඩා ගසෙක අත්තක් වත් කැඩීම බැරි බව මා හොඳ හැටි දන්නවා. කුමකට ද මේ විහිළු? හැබැවට ම අලි රාලහාමි ද මේ ගස් කඩා දැමුවේ?'

'අලි රාලහාමි! අනේ, අනේ! මම නිකම ම කටුසු හාමි. ඒ මහ රාලහාමි!! මටත් ඉදිමෙන්නට පිළිවන් නම් මමත් රාලහාමි. හොඳ. කමෙක් නෑ. ඔබට ඇත්ත කියමි. අලියාත් වැටුණ ගහක් දෙකක් ඒ මේ අත ඇද්ද තමා. එහෙත් හරි හරිය කෙළේ නිකම් ම නිකම් කටුසු හාමි. ඔබ අලියා ගේ මහ සැරයට බය බව හැබැයි. එහෙත් මගේ හීන් සැරයත් සැරයක් බව නොසිතුවා වරදයි.'

ගෝණ හාමි මුව අයා–ගෙන, ඇස් ඔරවා ගෙන කන් කෙළින් කොට–ගෙන අසා සිටියේ ය. කටුසු හාමි එ තරම් බිය නැති ලෙස කියන හෙයින්, සැක කරන්නට ද හේ අසමර්ථ ය. එ හෙයින් කිසිවක් නො කියා කටුසු හාමිට හිස නමා ආචාර කොට, මඳ තැනක් පස්සෙන් පස්සට ගොස්, නැවැතත් හැරී යන්නට වන.

ගෝණ හාමි ගේ සිතිවිලි දැන් ඔහුට සුව නො දෙයි. 'අහෝ, පුදුමයි. එ තරම් සිහින් කටුසු හාමි–හා

හා, එ සේ කියන්නට හොඳ නෑ–කටුසු රාලහාමි! ඔහු මෙ තරම් බිහිසුණු කම් කරද්දී අලි රාලහාමි නිකම් සිටියේලු. සත්‍යය යැයි විශ්වාස කළ හැකි ද? මෙ තරම් මහත් ශරීර ඇති, මේ තරම් දරුණු අං ඇති, මෙ තරම් තද කුර ඇති, මෙ තරම් තියුණු දත් ඇති, මෙ තරම් වේගයෙන් දිවිය හැකි අපට අලි රාලහාමි ගේ අහලෙක වත් හිටින්නට නො පිළිවන. එහෙත් එ තරම් සිහින් කටුසු රාලහාමි කළා ය කියන දෑ දුටුවා ම අලි රාලහාමිට ලජ්ජා හිතෙනවාට සැක නෑ. අනේ මෙබඳු දෑ සිදු විය හැකි ද? ඇයි නො හැකි? යකුනටත් වඩා බලවත් මිනිසුන් දූන් ඇති විය හැකි නම්, කටුසු රාලහාමි අලි රාලහාමිට වඩා බලවත් විය හැකි නොවන්නේ කවර හෙයින් ද?'

'මෙසේ සිත–සිතා යන ගෝණ හාමිගේ සිත තව ද අතකට ගියේ ය. ඉතින් මම මෙය කාට කියම් ද? නොකියා සිටීමත් අමාරු ය. එකල මෙය සිත ඇතුළේ පැසි–පැසී සිතට මහත් වෙහෙස දෙයි. හිතේ ඇති දෑයක් කියන්නට සුදුස්සකු කියූ කල තමාට සරදම් නො කොට තමා අමාරුවෙන් මුදන්නකු–ඇති වීම මහත් වාසනාවෙකි. එ බඳු දෑයක් කියන්නට සුදුස්සෙක් මටත් ඇද්ද? ඇයි නැත්තේ? මගේ බිරින්දෑ. උන්දෑට මා නොකී රහසෙක් නැත. ඒ සියල්ලෙහි දී මගේ සිත

සැනැසුවා මිස කිසි විටෙක මට සරදම් නො කළා ය. එහෙත් මේ මෙ තෙක් කී දූ වැනි නො වේ. මට වඩා කටුසු හාමි හපනකු බව දූන–ගත් විට මට ඇති ආදරය අඩු වේ ද? නෑ නෑ එසේ වන්නේ නෑ. අලි රාලහාමි, කොටි රාලහාමි, මට වඩා හපන් බව උන්දූ හොඳට දන්නවා. ඉතින් මට ඇති ආදරය එයින් අඩු වුණා ද? නෑ උන්දට මෙය කියමි.''

2. පරිච්ඡේදය

# කටින් ලොකු කම

සිතිවිලි කො තරම් බලවත් වී ද යත හොත් ගෝණ හාමිනේ ලහට ම ඇවිදිනුත් ඒ බව ගෝණ හාමිට නො දැනුණේ ය. හාමිනේ සැමියාගේ අමුතු ස්වභාවය දක පුදුමයෙන් බලා සිටියා ය. සැමියා ගේ ඇස් නො පෙනේ. අන්තිමයේ දී හාමිනේ ඉවැසිලි නැති ව, 'අද පිස්සු දෑ'යි ඇසුවා ය.

ගෝණ හාමි උඩ ගොස් බිම වැටුණේ ය. ඇතුලේ කො පමණ අමුතු තිබුණත් හාමිනේ ගේ කට ඇසුණු විට ඔහුට හොඳ සිහිය සමහ ලජ්ජාවද පැමිණියේ ය.

'නෑ, මා බලවත් සිතිවිල්ලෙකින් ආයේ. කොතරම් බලවත් සිතිවිල්ලෙක් ද කීවොත් මගේ ඇස් පෙනුණෙත් නෑ.'

'එ තරම් බලවත් සිතිවිල්ලක්! ඒ කිමෙක්ද?'

මෙ බඳු තැනෙකදී ගැනුන් අසන ප්‍රශ්නයට කෙළින්ම නො පැකිළ පිළිතුරු නො දීම,

පිරිමියෙකු විසින් කළ හැකි ඉතා මහත් මෝඩ කමක් බව ගෝණ හාමි හොඳ හැටි දනී. එහෙයින් පිළිතුර එක් වරම ආයේ ය.

පුදුමයක් නොවැ? කටුසු හාමි–නෑ මට වැරැදුණා– කටුසු රාලහාමි කියනවා, අලි රාල හාමිටත් බැරි දෑ ඔහුට කරන්නට පිළිවන් බව'

'ඇයි බැරි? නුල් තුනක් මහත රිකිල්ලක් දිගේ අලි රාලහාමිට ගිය හැකි ද ? අහල් එකහමාරේ හිලක් අස්සේ අලි රාලහාමිට රිංගිය හැකි ද ? ඔබේ අඟ උඩ අලි රාලහාමිට සිටිය හැකි ද ? අලි රාලහාමිට නොකළ හැකි මෙ බඳු දහසක් දෑ කටුසු හාමි කිසි පැකිළීමක් නැති ව කෙරෙයි.'

'එ බඳු දෑ නො වෙයි මා කීයේ. අලි රාලහාමි කඩන ඉතා ම ලොකු ගහට වඩා ලොකු ගස් කටුසු රාලහාමිට කැඩිය හැකි ලු.'

ගෝණ හාමිනේ වතය සුදු කරමින් සිනා සුණා ය.

'ඉතින් කවරෙක් ද එ සේ කීයේ ?'

'කටුසු රාලහාමි ම කීවා'

'ඔබත් ඒ සියල්ල සැබෑවට ගත්තා. ඒ නිසයි කටුසු රාලහාමි ය කියන්නේ, අනේ පිරිමි මෙතරම් මෝඩ ද ?'

'එසේ කියන්නට එපා, සුන්දරිය. තමා ගේ සපන් කම, තමා ම සැකක් බියක් නැති ව මුහුණට ම කියන කල නො පිළිගෙන පිළිවන් ද? පිස්සකු මහ පුර සාරමක් කීවා ම මිනිස්සු පිළිගනිත් නම්, කිසි

පිස්සුවක් නැති කටුසු රාල හාමි කී දෑ මා වැනි ගෝණකු විසින් පිළිගැනීම වැරැදි ද ?'

'මිනිසුන් පිළිගත්තා ය, කියා පිළිගැනීමෙක් දෑන් නෑ. අපට ඇස් නැද්ද ? අපට කන් නැද්ද ? අප විසින් පිළිගත යුතු අපට පෙනෙන දෑ, අපට ඇසෙන දෑ, සැබෑ යැයි අපට වැටහෙන දෑ. ඇයි මේ සා බොරුවක් සැබෑවට ගත්තේ ?'

'මා දුටුවා කඩා තුබුණු මහ ගස්'

'ගස් කඩනවා ඔබ දුටුවා ද?'

'නෑ.'

'ඉතින් ඔබ දන්නේ කෙසේ ද, ඒ ගස් කටුසු හාමි කැඩුවා ද අලි රාලහාමි කැඩුවා ද කියා. මට දෑන් තේරෙනවා. කැඩූ ගස් දුටු හැටියේ ඔබට බය හිතුණා. ඒ නිසා තමා, 'කටුසු රාලහාමි' ය කියන්නටත් පටන්-ගත්තේ. බයට 'රාලහාමි'ය කියන්නට නම් ඔබට වඩා හපන්නු කකුල් දෙකේ අය. ඒ නිසා කමෙක් නෑ. අපට කුමකට ද, අනුන්ගේ බොරු කතා අපි අපේ ආදරයට අනාදරයක් නො කොට කා බී ප්‍රීතියෙන් දවස් යවමු.'

ගෝණ හාමිට මහත් සැනැසිල්ලෙකි. එහෙයින් හේ දිග සුසුමක් හෙළා සුවපත් වූයේ ය. ගෝණ හාමිනේ නිකම් ම ඇදෙන්නාක් මෙන් සෙමෙන් සෙමෙන් වනයේ එක් අතකට ඇදුණා ය.

ගෝණ හාමිනේ එසේ ඇදුණේ නිකම් ම නො වේ. ඇයගේ සිතට අදහසෙක් පහළ වී ය. ඇය හා

අලි හාමිනේ හා අතරේ මහ මිතුරු කමෙක් වීය. ඒ කලක් පැවැතුණු මිතුරු කමෙකි. ඉඩක් ලැබුණු වහා ම ගෝණා හාමිනේ අලි හාමිනේ ළඟට යන්නී ය. ඒ දෙදෙන බොහෝ වේලාවක් මහත් ස්නේහයෙන් සුව දුක් දෙඩති. ලෝකයේ සිදු වන දෑ ගැන අදහස් පවසති.

එ ද ද ගෝණා හාමිනේ ඇදුණේ අලි හාමිනේ ළඟට ය. අලි හාමිනේ ඇය ආදරයෙන් පිළි-ගත්තා ය. තමා බුදිමින් සිටි කොළ අත්ත ඇයට ද ළං කළා ය. ගෝණා හාමිනේ ද, බඩ ගින්නක් නැතත්, ආදරයෙන් ළං කළ කොළ අත්තෙන් කොළයක් දෙකක් කඩා සෙමෙන් සෙමෙන් සපන්නට වූවා ය.

'අනේ, ගෝණා හාමිනේ දුටු කල්! ඇයි මෙ තෙක් දවස් මෙහි නාවේ?'

'එන්නට ඉඩක් ලැබුණේ නෑ, හාමිනේ. මටත් බොහෝ ම හිතට අමාරු ව තුබුණා හාමිනේ නො දැක. හාමිනේ ගේ සුව දුක් කෙසේ ද?'

'අමුත්තෙක් නෑ. ගෝණා හාමිනේ ගේ සුව දුක්?'

'එහිත් අමුත්තෙක් නෑ, හාමිනේ'

'අහන්නට ලැබුණු අලුත් තොරතුරු නැද්ද?'

'ඇයි නැත්තේ? හාමිනේට අහන්නට ලැබුණේ නැද්ද, අලුත් ම තොරතුර? දැන් රාලහාමිටත් වඩා ලොක්කකු ඉන්නවා ය කියන්නේ!'

'අපේ රාලහාමිට වඩා ?'

'ඔව් හාමිනේ.'

අලි හාමිනේ ගේ හිත මෙ විට මඳක් සැලුණු නමුත් ඒ බව නො දැනෙන්නට හීන් හිනාවක් දක්වා. 'ඒ කවරෙක් ද'යි ඇසුවා ය.

'ඇයි, කටුසු හාමි.'

අලි හාමිනේ මෙ විට සැක නැති ව ම සිනා සුණා ය.

'කටුසු හාමි පමණක් ද, ගෝණ හාමිනේ අපේ රාලහාමිට වඩා ලොකු? ඇයි, හිනි හාමි, කඩි හාමි, දිමි හාමි?'

'නෑ හාමිනේ, මේ කවට කමට කියනවා නො වෙයි. මගේ සැමියා සමඟ කටුසු හාමි ම කී එකයි, මා කියන්නේ.'

'කටුසු හාමි කුමක් කීවා ද ?'

'අර මහ ගස් කඩා දැමුවේ කටුසු හාමි ලු, රාලහාමි නිකම් බලා සිටියාලු.

'ඉතින් ගෝණ හාමි හැබෑවට ගත්තා ද ?'

'ගත්තා ද කියා අහනවා, කො පමණ බය වුණා ද කියතොත් දැන් කටුසු හාමිට කියන්නේ රාලහාමිය කියා.'

අලි හාමිනේ නැවතත් සිනා සුණා ය.

'අනේ, දුප්පත් ගෝණ හාමි! ඉතින්, ඉතින්, කියන්න සියලු තොරතුරු.'

'මටත් හිනා ගියා මේ කීම අසා ලා. ඕකට නො කියා ඉන්නට බැරි නිසයි මේ ආවේ. බලන්න. හාමිනේ, පිරිමි මෙතරම් මෝඩ ද ?'

'එසේ කියන්නට එපා. ගෝණ හාමිනේ. පිරිමි පමණක් නො වේ මෝඩ, ගැනුන් මෝඩයි. ආදරය ඇති පිරිමින් සමඟ දෙඩන විට නම් ගැනුන් ගේ නුවණ බොහෝ මයි. ගැනුන් ගේ මෝඩ කම් එළි වන්නේ පිට අය සමඟ දෙඩන විටයි. ඒක නො වේ. දූන් මුගේ හිතේ තිබෙන්නේ හැබැවට ම කුඩාඳුන් කටින් ලොක්කන් වන්නට සැරසෙන සැටි!'

'ඒක නො වේ නම්, හාමිනේ ?'

'කාගෙත් සිරිත මේ වාගෙයි. කකුල් දෙකේ අය අතරෙත් මේ සිරිත ඇති බව පෙනෙනවා. දන්නා කෙනකුන් ගේ දෙස් මෝඩයන් ඉදිරියෙ කියමින් තමන් ගේ නුවණ රටේ පැතිරෙති යි සිතන මෝඩයනුත් ඉන්නවා'

'ඒක නම් හරි.'

'කෙසේ වෙතත් අපේ රාලහාමිට මෙය කියන්නට ඕනෑ.'

'අනේ හාමිනේ, මා කී බවක් නම් කියන්නට එපා.'

'එසේ කියනවා ද ? මා දන්නවා එය කියන සැටි. ගෝණ හාමිනේ බය ගන්නට එපා. දූන් යන්නට ද ඔව්, යන්න, යන්න, ඉරත් බහින්නට යි යන්නේ.'

3. පරිච්ඡේදය

# අලි කෝපය

පසු ද අලි හාමිනේ ආදර ගුලියෙකි. වරක් අලි රාලහාමි ගේ හොඬ තමා ගේ හොඬින් වෙළයි; වරක් සිය සිරුර සැමියා ගේ සිරුරෙහි ගාවයි, වරක් ඔහු ගේ අංශයට හිස දී තල්ලු කෙරෙයි. වරක් ඔහු මුවට ගත් කොළ අත්ත උදුරා-ගෙන සිය මුවෙහි ලා යළිදු ඇද ඔහු ගේ මුවෙහි ම තබයි. රාලහාමි මහත් පුදුමයෙන් මේ ආදර සියල්ල විඳී.



අන්තිමයේ දී අලි හාමිනේ දෙඩන්නට වූවා ය. මෙ නෙක් දෙඩීමට මහ පැදුවා පමණෙකි. නුවණ ඇති ගෑනු සැමියාට අමුත්තක් කියන්නට ඇති කල, පළමු කොට ඔහුට විශේෂ ආදරය දක්වා ඔහු ගේ සිත බැඳ–ලති. ඉක්බිති සෙමෙන් අමුත්ත කියති. සැමියා හීලෑ ව සියල්ල ගනී. ඔහුට කෝපයට ඉඩෙක් නො ලැබේ. අලි හාමිනේ මේ උපායෙහි ඉතා දක්ෂ වෙයි.

'ඊයේ හරි වැස්ස නොවැ? හරි සුළඟ නොවැ? ඔබ ළඟ නොසිටි නිසා මා හරියට බය වුණා.'

මෙ සේ අලි හාමිනේ මුල පිරුවාය.

'මාත් හොඳට ම බය වුණා. වෙන කවර බයෙක් ද? ඔබ ළඟ නොසිටි එක තමා බය. මා කීප වරක් ම වැයම් කළා එන්නට. ඒ අතින් ගසෙක් වැටෙයි, මේ අතින් ගසෙක් වැටෙයි, තව එකක් කැඩී අවුත් ඒ දෙක උඩ වැටෙයි. ඒ වේලාවේ ආවා නම්, අලියකු ගේ වුවත් කුඩුවත් ඉතිරි වන්නේ නෑ. ඒ නිසා සුළඟ නවතින කල් ම සිටියා.'

'එසේ නම් ඒ ගස් වැටුණේ සුළඟට?'

'ඔව්, ඇයි අසන්නේ? කෙසේ වැටුණා ය කියා සිතුවා ද?'

'මා හිතුවා, ඔබ ඒ ගස් කඩන්නට ඇත කියා.'

'ගස් වැටුණේ සුළඟට, මා එන්නට සැරසුණු නමුත් බැරි වුණා. ඒ මේ අතින් වැටුණු ගස්වලට

පාර ඇවිරී ගියා. බැරි තැන මා සමහර ගස් ඒ මේ අතට ඇද්ද, සමහර ගස්වල අතු කඩා දැමුවා. කොතරම් අමාරු වින්ද ද, මා යන්තම් ඔබ ළඟට පැමිණියේ?'

'කටුසු හාමිත් එහි සිටියා ද?'

'මා දුටුවේ නෑ. කටුසු හාමි ගේ සිහියෙක් කොයි ද? මට තිබුණේ ඔබ ගේ සිහිය මයි. ඒ නිසා කුමක් කොට නමුත් ඔබ ළඟට එන සිහිය ම තුබුණු නිසා මා පණ නො බලා වෙහෙස වින්ද.'

අලි හාමිනේ මේ වර මඳ සිනාවක් දැක්වූවා ය. අලි රාලහාමි එය නුදුටුයේ නො වේ. හේ විමසන්නට වී ය.

'ඇයි ඔබට හිනා?'

'නෑ නිකම්!'

'නෑ නෑ. ඒ 'නිකම්' කීම හරියන්නේ නෑ. මෙහි රහසෙක් ඇති. එය සැඟැවීම ආදරයට කැරෙන්නෙක් නො වෙයි. කියන්න ඇයි හිනා?'

'අනේ, නෑ. රහසෙක් නෑ. මට කාරණයක් මතක් වී හිනා ගියා.'

'කියන්න, ඒ කාරණය.'

'කටුසු හාමි කියනවා ලු, ඔහු ඒ ගස් කැඩුවා ය කියා. ඔබ නිකම් බලා සිටියා ලු.'

අලි රාලහාමි කොක් හඬ ලා සිනාසුණේ ය.

'කවරෙක් ද එය කීයේ ?'

'කටුසු හාමි මයි කීයේ'

'කටුසු හාමි ඔබට කීවා ද ?'

'නෑ, නෑ, කටුසු හාමි කීයේ ගෝණ හාමිට. මට ඇසුණා. ඔබ නිකම් සිටියා ලු. ගස් කැඩුවේ කටුසු හාමි ලු. ඉතින් ගෝණ හාමි කො පමණ බය ගත්තා ද කිවොත් කටුසු හාමිට 'කටුසු රාල හාමි ය' කියන්නට පටන් ගත්තා.'

අලි රාලහාමි හිස කෙළින් කෙළේ ය. සතර පය තර කොට බිම පිහිටැවී ය. හොඬ නිසල කෙළේ ය. ඇසිල්ලක් මෙ සේ සිට දෙඩන්නට විය.

'ඉතින් බලන්න, මේ කුඩාවුන් ගේ ආඩම්බර සිතෙක මහත! ගසෙක කොළයක් කඩා ගන්නට වත් ශක්තිය නෑ. එහෙත් මහ ගස් කැඩුවා ලු. හොඳ නො වේ ද ?'

'ඒක නො වේ නම් මාත් මේ හිත–හිතා සිටියේ ?'

'හොඳ, ඌට හොඳ පාඩමක් උගන්වන්නට ඕනෑ. මම දැන් ම යමි. මට උන්දෑ සමු වේවි. ඌට මගේ හොඬින් ගැසුව හොත් මගේ හොඬ කැත වෙයි. පයින් පහර දුන හොත් පය කැත වෙයි. කටුස්සකු මැරුව හොත් ඒ මුළු අලි ජාතියට ම නින්දවෙකි. මා ඔහුට හොඳ බණක් කියා මෙලොව දී තබා පරලොව දී වත් මෙ බඳු ජඩ

දෙඩුම් නොදෙඩන ලෙස නිසි පමණට බිය වද්දනවා.'

'අනේ, ඔබ නිකම් දෙඩුම් ගණනට නො ගෙන ඉන්න. කටුස්සා මැරුවා ම පමණෙක් ද නින්ද ? කටුස්සා ගේ දෙඩුම් ගණනට ගත්තා ය කීවත් නින්දවෙකි.'

'ඔබ ගේ කීම බොහෝම හරි. එහෙත් මා නිකම් වචනයක් දෙකක් කියා එනවා. බිය ගන්නට එපා. කලබලයක් කරන්නේ නෑ.'

අලි රාලහාමි මෙ සේ කියා මඳ දුරක් ගියා විතර ය. මේ ඉන්නේ කටුසු හාමි අත්තක් උඩ හිස වන–වනා. අලි රාලහාමි ඔහු නුදුටුයේ ය. හේ නම් රාලහාමි දුටුයේ ය. තමා ඊයේ කී පුරසාරම් රාලහාමි දනිතියි නොසිතූ බැවින් කටුසුහාමි හිස වැනීමෙන් ම ආචාර දක්වා 'ආයුබෝවන්, රාලහාමි' යි කී ය.

අලි රාලහාමි ඒ හඬ අසා වට පිට බැලී ය. ඔහුට තමා සොයා–ගත නොහැකි වූ බව දත් කටුසු හාමි හුහක් ම හිස වනා යළිදු 'ආයුබෝවන් රාලහාමි' යි මහ හඬින් කීයේ ය. ඒ වර කරකැවී බැලූ රාලහාමිට අතු අගෙක හිඳ තව මත් හිස වනන කටුසු හාමි පෙනිණ.

අලි රාලහාමි ගේ කෝපය ඇවිස්සුණේ දැනුයි. හාමිනේ ගේ අවවාදය ඔහුට මතක නැති විය. හේ කෝපයෙන් වෙවුලන්නට වූයේ ය. 'මෙ තරම්

කුඩාවෙක් නො වේ ද, මා පහත් කොට-සිතා ගත්තේ? තවත් එසේ නො සිතන්නට දැන් ම මූ සොඩින් ගෙන පයට යට කෙරෙමි'යි හේ එක් වර ම සිතී ය. එහෙත් ඒ සිත මඳක් මැඩ කෝප වේගය නිවන පිණිස මෙන් මහත් කොට පිඹ දෙඩන්නට වූයේ ය.

'තෝ ද බල, එ තරම් හපනෙකැ කියන්නේ ?'

'රාලහාමිට තරහ ගොහින් වගෙයි. මගේ කවර හපන් කමෙක් ද රාලහාමි ? රාලහාමි නොවැ හපනා ?'

'මගේ හපන් කම කොයි යා ද ? තා කියන්නට ඕනැ ද මා හපනකු බව ?

'නෑ රාලහාමි මා කියන්නේ කුමට ද ? ඊයේ මා දුටුවේ කළ හපන් කමේ තරම.'

අලි රාලහාමිට මේ සියල්ල පෙනෙන්නේ සරදමක් හැටියට ය. එ හෙයින් තවත් බසකුදු නො කියා සොඩ නගා මහත් හඬින් පිඹ ඉදිරියට පැන්නේ ය. ඒ පැන්නේ උන් අත්ත පිටින් ම ඇද-ගෙන කටුසු හාමි පයට යට කරන පිණිස ය. අත්ත කැඩුවා පමණෙකි. කටුසු හාමි එහි නො සිටියේ ය. වියරු හුණු කලෙක්හි මෙන් අලි රාල හාමි ඒ මේ අත හැරෙමින් වනය පොඩි කෙරෙමින් බලන්නට වූයේ ය. එහෙත් කටුසු හාමි ගිය අතක් වත් පෙනෙන්නට නැත. එ හෙයින් මහත් ජයක් ලැබූ ලීලාව දක්වමින් අලි රාලහාමි සෙමෙන් සෙමෙන් සිය නිවෙස බලා ගියේ ය.

4. පරිච්ඡේදය

# අලි උගුල

අලි රාලහාමි ද නො දත්තේ ය. කටුසු හාමි ද නො දත්තේ ය. හිවල් හාමි ගසට මුවා වී මොවුන් ගේ තරහය අසා සිටියේ ය. අලි රාලහාමි ගිය පසු හේ එළියට අවුත් වටපිට බැලී ය. කටුසු හාමි ද සැඟවී සිටි තැනින් මෑත් ව වට පිට බැලී ය. දෙදෙනා ගේ ඇස් සමු විය.

'ආයුබෝවන්, කටුසු හාමි.'

ආයුබෝවන්, හිවල් හාමි.'

'ඇයි කටුසු හාමි, රාලහාමිට එතරම් තරහ ගියේ ?'

'හා, ඔබ අසා–ගෙන සිටියා ද ? අනේ, මා දන්නේ නෑ හිවල් හාමි. රාලහාමි අද නො පිපිරුණා විතර යි. රාලහාමි එතරම් මහත් නො වේ නම්, මම මෙතරම් හීන් නො වෙමි නම්, අප දෙදෙනා ගෙන් එකෙක් අද ඉවර යි. රාල හාමිට මා සොයා–ගන්නට බැරි උණා. මට රාලහාමි අල්ලා ගන්නට බැරි උණා.'

හිවල් හාමි මදක් සිනා සුණේ ය.

'අල්ලා ගන්නට බැරිවුණා! නො වේද කටුසු හාමි ? අල්ලා ගත්තා නම් ඔබ කුමක් කරනවා ද ?'

'කුමක් කරනවා ද කියා බලා ගන්නට තිබුණා තව ටිකෙකින් යම්තම්වත් අහු වුණා නම්, දැන් ඉතින් කුමක් කරන්නට ද ?'

හිවල් හාමි තවත් සිනා සුණේ ය.

'බොහො ම හරි, කටුසු හාමි බොහො ම හරි'

'බොහො ම හරි නො වේ නම්? හිවල් හාමි. ඔබ කුමක් සිතනවා ද කියා මා දන්නේ නෑ, ලොක්කන් රටේ සිටි පළියට කුඩා උන් රට හැර යන්නට ද ? උනුත් රටේ හිටින්නට ඕනෑ. ඕනෑ නැති අන්දමට හැපෙන්නට ආවොත් ලොක්කන් ගේ තරම ඔවුනට හඳුන්වා දෙන්නට ඕනෑ.'

'ඉතින් පින් ඇති කටුසු හාමි, ඔබත් මමත් අලි රාලහාමිට කුමක් කරමු ද ? රාලහාමි ගේ එක පුයකට ද ඔබ වැනි සිය දෙනෙකුත් මදි!'

'ඔව්, මදි. ඒ අප ඔහු ගේ පය යටට ගියොත් නොවැ? ඉඩ ලැබුණොත් තනි මට අලි සිය දෙනෙකුත් මදි.'

'නිකම් මැත දෙඩන්නට එපා, කටුසු හාමි. ඔබ කුමක් කරනවා ද රාලහාමිට, කියන්න එය රාලහාමි ගේ නහුටේ ලෝම ගසක් වත් සොලවන්නට බැරි ව හිඳ–ගෙන කටේ තිබෙන උදුරම් කම!'

'හිවල් හාමි, ඔබ වැනි දීනයන් නිසා තමා, මේ ලොක්කන් මෙතරම් ආඩම්බර. ඇඟ පත ටිකක්

මහත නම් ගත් කටට 'රාලහාමි', මම නිකම් ම කටුසු හාමි. ඔබ නිකම් ම හිවල් හාමි. ඒ හරියට ම අලි රාලහාමි. ඔහුට 'රාලහාමි' ය කියනවා නම්, මටත් 'රාලහාමි'ය කියන්නට ඕනෑ. නැත්නම්, මා සමඟ දෙඩන්නට එපා.'

'හා හා, තරහ වන්නට එපා. කටුසු රාලහාමි. රාලහාමි, රාලහාමි, රාලහාමි, රාලහාමි, අනේ කී සැරේ ද කියා ගැණ ගන්නටත් බැරි වුණා. දහ සැරයක් මඳි නම් සිය සැරයක්, ඒත් මඳි නම් දහස් සැරයක් වුණත් 'රාලහාමි' ය කියනවා. තරහ වන්නට නම් එපා. කටුසු රාලහාමි. කියන්න. අලි රාලහාමි අසු වුණොත් ඔබ කුමක් කරනවා ද ?'.

කටුසු හාමි මඳක් සිනා සුණේ ය, හිස ද වැනුවේ ය.

'කුමක් කරනවා ද කියා බලා ගත හැකි. එ විට තමා හිවල් හාමිටත් කටුසු රාලහාමි ගේ තරම තේරෙන්නේ.'

'ඉතින් කුමක් කරනවා ද- නිකම් පුරසාරම් නො දෙඩා කියන්න එය.'

කටුසු හාමි තවත් සිනා සුණේ ය. හිස ද හොඳට ම වැනුවේ ය.

'හිවල් හාමි, මා එකක් කියනවා. ළඟ දී දවසෙක අලි රාලහාමි මහ හඬ දී-ගෙන කැලෑව බිඳ-ගෙන දිව්වේ නැත් නම් මගේ නම කියන්නට එපා. කුමක් කළා ද කියා එ විට ඔබට දැන ගන්නට ලැබෙයි. ඒ මහ සැරකාරයා. ඔව් එය මා දන්නවා. මගේ හීන් සැරයත් ඔහුට ටිකක් පෙන්නා බලන්නට

ඕනෑ. අපේ ම වරදින් හිවල් හාමි, අප මේ නිවට ව ඉන්නේ. ලොක්කන්ගේ ලොකුකම් පෙන්වන්නට ආවා ම පොඩියන් පොඩිකමේ බලයත් පෙන්වන්නට ම ඕනෑ. කවට කමට ගන්නට එපා. පොඩියන් ගෙත් එක්තරා බලයක් තිබෙනවා. ඇතැම් විට ලොක්කනට පොඩියන්ගේ සැරය වැදුණා ම ඉවසන්නට බැරි ව යනවා නො වේ ද හිවල් හාමි ?'

'ඔව්, ඔව්, කටුසු හාමි ආඃ, මට වැරදුණා, කටුසු රාලහාමි. මට ඉවසිල්ලෙක් නෑ. ඔබ කුමක් කරන්නට ද හිතා–ගෙන ඉන්නේ ?'

'කළා ම පිළිවනි. හිවල් හාමි. එය දැන ගන්නට ?'

'ඉතින් මට කියන්න. කීවායින් වන වරද කිම. හැබෑවට ම කරන්නට පිළිවන් නම්? බැරි අය තමා කියන්නට බය.'

'කරන අය කියන්නේ නෑ. හිවල් හාමි. කියන අය බොහෝ සෙයින් ම කරන්නෙත් නෑ.'

'නිකම් බොරු පුරසාරම් දෙඩන්නට එපා. නිවට කටුසු හාමි. අලි රාලහාමි එන හඬ ඇසෙන විට ඔබ මේ කැලෑවේ වත් සිටියොත් ඇති. හිතා ගත්තා ද, මාත් මේ ඔබේ පුරසාරම් හැබෑවට ගත්තාය කියා.'

කටුසු හාමි සිනා සුණේ ය. හිස ද වැනුවේ ය.

'හිවල් හාමි හැබෑවට ගත්තා දවස ඉක්මනටම ඒවි. මගේ නිවටකම මට තිබුණා වේ. එයින් හිවල් හාමිට ඇති පාඩුව කිම ?'

'එසේ නො වෙයි, කටුසු රාලහාමි මා ඒ කීවේ රාලහාමි ගේ තරහ අවුස්සන්නටයි. රාලහාමිට තරහ ගියේ නෑ. බොහොම හොඳ. එසේ නො වෙයි.

මෙවැනි බර කටයුතු දනුම් තේරුම් එකකුට කියා බලා කරනවා නම් තමා හරි. එසේ කීවා ම එහි වරදෙක් වේනම් එය දන-ගන්නට ලැබෙයි. මාත් මේ බලබලා ඉන්නේ ඔය අලි රාලට උගුලක් අටවන්නට තමා. අප දෙන්නා එකතු වුණා ම කරන්නට බැරි එකක් නෑ. කියන්න, කියන්න, මට ඔබ සිතා ඉන්න සැටි.'

'එය සැළ වුණොත් හරි යන්නේ නෑ.'

'සැළ වන්නේ කෙසේ ද ? මා අවිශ්වාස කරන්නට එපා. මා රහස් රකින්නට හොඳට දන්නවා. පිට වෙතොත් පිට වන්නේ ඔබගෙන්, මගෙන් නො වේ. සැක නැති ව කියන්න.'

කටුසු හාමි ගසින් බැස අවුත් හිවල් හාමි ගේ කනට කට ළං කෙළේ ය. හිවල් හාමි හිස වනමින් අසා සිට පුදුමය දක්වී ය.

'බොහො ම හොඳ, බොහො ම හොඳ කාරිය හරි යනවාට මෙන්න කැට'යි කියා කටුසු හාමිට තවත් ධෛර්‍ය වඩා, වෙන කිසිවක් කියා ගත නොහැකි ව බලා සිටියේ ය. කටුසු හාමි, තමා හිතූ තරම් බියසුල්ලකු නොවන බව ඔහුට දන් පෙනෙයි.

'අනේ හිවල් හාමි, පිට කරන්නට නම් එපා. පිට කළොත් කාරිය වරදිනවා මයි.'

'රාලහාමි කුමක් කියනවා ද ? මටත් ඕනෑ කවර උපායෙකින්වත් අලි රාලට පාඩමක් උගන්වන්නට යි. රාලහාමි කිසි බියක් ගන්නට එපා. මා ඉන්නවා උපකාරයට. හිතූ හැටියට ම කරන්න. කාරිය හරියනවා මයි.'

5. පරිච්ඡේදය

# අලි දළ වෙළෙඳාම

හිවල් හාමි ඉතා සියුම් කල්පනා කාරයෙකි. කටුසු හාමි සමඟ දෙඩීමෙන් පසු ඔහු ගේ කල්පනාව දස අතේ ගියේ ය. අසල ගමේ ගොවි



හාමි ගේ එළු පට්ටිය දුටු විට ඔහුට සිතුණු සිතුවිලි නොයෙක් විට පෙරළි-පෙරළි එයි. අලුත උපන් එළු පැටියන් දැක ඔහු ගේ කට තෙත් වූ වාර බොහෝ ය. ඔහු තලු ගැසූ වාර බොහෝ ය. එළුවන් ගිය පසු උන් උන් තැන්, සිටි තැන් ඉඹ බැලූ වාර බොහෝ ය. එහෙත් කුමක් කරන්නට ද ? එළුවන් ගාලට ගිය විට ඔහුට ඉතිරි වන්නේ තද කළු දිගැටි ගුලි රැසක් පමණෙකි.

දිනක් වනය මැද ඉනි කපමින් සිටි ගොවි හාමි ගේ ලේ උණු කරවන දෙයක් සිදු විය. අලි රාල හාමි බඹ පනහක් පමණ ඈතින් යයි. පළමු කොට ගොවි හාමි හිතුයේ මහ කළු ගලක් පෙරළෙති යි කියා ය. මොහොතෙකින් ඒ කළු ගලක් නොවන බව ඔහුට පෙනිණ. ගෙදර ම දුවන්නට ද සිතා, අලි රාලහාමි තමා ඉන්නා දෙසට නොඑන හෙයින්, ගොවි හාමි ගසකට මුවා වී බලා සිටියේ ය.

'අලියකු ගේ තරම! මෙතරම් ලොකු අලියකු මා මීට ඉහත දුටුවේ නෑ. අර දළ දෙකේ දිග! අනේ එය ඇත් නම්! හරි ගණනකට දෙන්නට පුළුවන් දළ දෙක, හිතුවාට කුමක් කළ හැකි ද ? දළ දෙක එහි, හිත මෙහි, එ පමණයි.'

ගොවි හාමිට නිකම්ම මෙසේ කියැවුණේ ය. පඳුරක් අස්සේ උන් හිවල් හාමිට මේ වචනය ඇසී බලවත් ප්‍රීතියෙක් උපන්නේ ය. ගොවි හාමිගේ එළු පැටවුන් දනුත් පෙනෙන්නාක් මෙන් විය. අලි

රාලහාමි ගේ දළ දෙක ලබා දෙන්නට බැඳුණොත් එළු පැටියකු ඉල්ලා ගන්නට නො හැරි වෙතියි ඔහුට සිතුණේ ය. එහෙයින් පඳුරින් මෑත් ව සෑහෙන පමණ දුර සිට, දෙඩන්නට වූයේ ය.

'ඒ දළ දෙක දෙන්නට ඔබ කුමක් දෙනවා ද ?'

ගොවි හාමි හැරී බැලී ය. හිවල් හාමි දූක ගොවි හාමිට සිනා පහළ විය.

'ඔබ ද මට අලියා ගේ දළ දෙක දෙන්නේ ? ඔබට හොඳ එකක් මා දෙනවා, තව ටිකක් ළඟට ආවොත්. ඊයේ රෑත් මගේ කුකුළන් මර හඬ ලෑවා. සැකෙක් නම් නෑ ඔබ යන්නට ඇති ඒ පැත්තෙන්.'

හිවල් හාමි මහත් පුදුමයෙන් ගොවි හාමි දෙස බැලී ය.

'රාලහාමි, නිකම් බොරු කියන්නට එපා. රාලහාමි ගේ බලු හාමි කීප වරක් ම කීවා, මා සෙල්ලමට වත් ඒ අසලින් යනවාට රාලහාමි නොකැමැති බව. මගේ ම හොඳට කියාපු කීමක් මා කිසි කලෙක නාසා ඉන්නේ නෑ. අහන්න බලු හාමි ගෙන්, මා ඒ දිසාවට වත් ගියා ද කියා.'

'එ සේ නම් මගේ කුකුළන් මර හඬ ලෑවේ ?'

'රාලහාමි හිතා ඉන්නේ කුකුළන් බය හිවල් හාමිට විතරය කියා. ඇයි, රාලහාමි, උගුඩු හාමි

ගැන දන්නේ නැද්ද ? ඔහු එන්නේ උඩින් නොවැ ? යටින් එන අප පමණ යි පෙනෙන්නේ.'

ගොවි හාමි හිස වනා දෙඩීම වෙන අතකට හරවන්නට කැමැති විය.

'ඉතින් කිමෙක් ද ඕනෑ. අලියා ගේ දළ දෙකට ?'

'රාලහාමි කුමක් දෙන්නට ද කැමති ?'

'එවැනි ගනුදෙනුවක් නෑ. බඩුව දෙන්නා ඊට ගන්නේ කිමෙක් දැයි කිය යුතුයි. කිමෙක් ද ඕනෑ.'

හිවල් හාමි මඳ සිනායෙන් යුතු ව වරක් මුහුණ ඒ අතට හරවයි. වරක් මේ අතට හරවයි. ගොවි හාමි දෙස හොර බැලුම් ද හෙළයි. ඕනෑ දේ සිතෙහි ඇති බව ද කියන්නට ලජ්ජා ඇති බව ද හඟවයි.

'ඇයි කියන්නට මෙපමණ ලජ්ජා ? කිමෙක් ද කිමෙක් ද ඕනෑ ?'

'රාලහාමි එසේ නම් මම කියන්නට ද ?'

'හා, හොඳ, කියනවා.'

'මට හොඳ එළු පැටියන් දෙ දෙනෙකු දෙන්න. මරන්නට විකුනන්නට නො වෙයි, ඇති කරන්නට. ගුරු හාමි මගේ අත බලා කීවා මට මී ලඟට ලැබෙන්නට යන ළමයාට එළු කිරි බොන්නට වන බව. ඉතින් මම දැන් එළුවන් ඇති කරන්නට ඕනෑ.'

'හොඳ, ඇත් දළ දෙක දුන්නා ම මා එළු පැටවුන් දෙනවා.'

'නෑ, නෑ, රාලහාමි, එවැනි ගනුදෙනුත් ඇද්ද ? ඇත් දළ දෙක දෙන්නට නම් දූන් එක එළු පැටවකු දෙන්න. දළ දෙක ලැබුණා ම අනෙකා දෙන්න.'

ගොවි හාමි සිනා සුණේ ය. මෙ සේ ද කීයේ ය:—

'ඒ හිවල් මායමට අසුවන්නේ නෑ මා. පණ පිටින් ඉන්නා අලියා ගේ දළ දෙකට අත්තිකාරම් දෙන්නොත් ඇද්ද ?'

'රාලහාමි මා ගැන සැක කරන්නට එපා. අපේ වර්ගයේ නුවණ ගැන ඔබ අසා නැද්ද ? කැම හිඟවූ කාලයෙක මහ අලි රාලහාමි කෙනෙකු මඩේ ගිල්වා මැරුයේ අපේ එකෙක් තමා. නුවණින් නොකළ හැකි කිමෙක් ද ?'

'කොපමණ නුවණ තිබුණත් අලි දළ නො දී මගෙන් එළු පැටියෙකු ගත හැකි නො වෙයි.'

'එසේ නම් රාලහාමිට ඇත් දළ දෙක එපා ?'

'එපා නො වෙයි. කැලේ ඉන්නා අලියෙකු ගේ දළ දෙක දෙනවා ය කී පමණට, කැලේ ඉන්නා හිවලෙකුට එළු පැටියෙකු දුන් බව දැන ගත්තොත් ගැනුනුත් මට සිනා සේවි.'

'රාලහාමි මගෙන් අලි දල දෙකත් ගෙන කිසිවක් නො දී මා එළවා දමන්නටයි සැරසෙන්නේ. මගෙන් අලි දළ දෙක ගෙන බලූ හාමි මා පිටට පැන්නුවා ම අලි දළ දුන්නා මදි ව පණත් දී–ලා එන්නටයි වන්නේ.'

ගොවි හාමිට නිකම් ම සිනා පහළ විය.

'එසේ සිතන්නට එපා. මිනිසුන් කියන දේ එසේ ම කරනවා.'

හිවල් හාමිට හොඳට ම හිනා පහළ විය.

'රාලහාමි තරහ ගන්නේ නැත් නම් මා ඇත්තක් කියනවා. මිනිසුන් පමණ නරක ජාතියෙක් මේ මුළු ලෝකයේ ම නෑ. වෙන සතුන් ගේ නියම ගති ගුණ තිබෙනවා, මිනිහා ගේ නෑ. අනේ, 'මිනිහා' කියන සතා නැත් නම්, කොතරම් හොඳ ද ලෝකය!'

හිවල් හාමි මෙසේ කියා මහ දිග සුසුමක් හෙළුවේ ය. ගොවි හාමි මඳක් සිතිවිල්ලේ සිට මෙසේ කීය :—

'මා දන්නේ නෑ, හිවල් හාමි, වෙන මිනිසුන් ගැන. මා නම් කී දේ වෙනස් කරන්නේ නෑ. අලි දළ දෙක ගෙනාවොත් එළු පැටවුන් දෙ දෙනෙකු දෙනවා.'

මෙසේ කියා ගොවි හාමි නො නැවැතීම ගියේ ය.

6. පරිච්ඡේදය

# අලී හමනා

හිවල් හාමිට දූන් දූන් නිවාඩු අඩු ය. දවසකට කිහිප වරක් ම ඔහුට වැදගත් ගමන් තිබේ. වරක් අලි රාලහාමි ළහට යෙයි. වරක් කටුසු හාමි ළහට එයි, යළිත් අලි රාලහාමි ළහට යෙයි, පෙරළා කටුසු හාමි ළහට එයි, එහි ගොස් ඔහු නොකී දෑ කියයි, මෙහි අවුත් ඔහු නොකී දෑ කියයි. කීප දිනකින් අලි-කටුසු වාදය ඉතා බලවත් අතට හැරුණේය.

දූන් අලි රාලහාමි කටුසු හාමි සොයයි. කුමකට ද ? අල්ලා ඒ මහ පයට යට කරන්නට. කටුසු හාමි අලි රාලහාමිට අසු නො වී අවසරයක් බලයි. කුමකට ද ? තමා සිතාගත් උපායයෙන් අලි රාලහාමි හික්මවන්නට.

'අද මුළු වනයත් සමහ වුව ද කටුසු හාමි කුඩු කොට මිස හැරී නොයමී'යි දිනක් අලි රාලහාමි සිතා-ගත්තේ ය. 'අද නම් මේ අලි රාලට යස පාඩමක් උගන්වමී'යි කටුසුහාමි සිතා-ගත්තේය. කටුසු හාමි තමා උන් ගසේ අතු අග කොළ අතරින් එබී බලයි, හිස වනයි, සැහවෙයි. අලි රාලහාමි අඩි කීපයක් ඉදිරියට යෙයි, නවතියි, හිස ඔසොවයි, වට පිට බලයි, පිඹියි, නැවැතත් යෙයි.

'හඃ හඃ හා! දුපු කල්! ආයුබෝවන් රාල හාමි. කොහොමද හාමිගෙන් ගෙ සැප සනීප ?'

අලි රාලහාමි උඩ ගෙයස් බිම වැටුණේ ය. ඒ හඬ ගේ අඳුනයි. එහෙයින් හඬ එවූ අත්ත දෙස බැලී ය. ඒ කටුසු හාමි. සිනා සුණු කට තවමත් එසේ ය. ඉහි කළ ඇස් තවමත් එසේ ය. වැනෙන හිස තවමත් එසේ ය.

තවත් ඉතින් කුමක් බලා ඉන්නට ද ? අලි රාලහාමි එක්වර ම ඉදිරියට පැන්නේ ය. ගස වටා සොඬ යැවූයේ ය. සතර පයට වැර දුන්නේ ය. 'ජරාස්!' ගසේ ආයුෂ ඉවරයි. අලි රාලහාමි ආවේෂ වූ පිස්සකු මෙන් නටයි. ගසේ එක් අත්තක් කඩයි. පාගා කුඩු කෙරෙයි, තවත් අත්තක් කඩයි, පාගා කුඩු කෙරෙයි. විනාඩි කීපයෙක දී එතැන වූයේ ගසෙක් නො වේ. අතු රිකිලි කොළ කුඩු රැසෙකි. අලි රාලහාමි එහි වූ සියල්ල ඉතා පරිස්සමින් අවුස්ස-අවුස්සා බැලී ය. කටුසු හාමි ගේ කුඩු වත් එහි පෙනෙන්නට නැත.

'ඉතින් හපන් කම් ඉවර යි. මාත් සමඟ නොවැ, තරඟ වෙන්නට ආයේ! තමා ගේ තරම දැන නොගැනීම තරම් විනාශයක් මෙ ලො ඇති විය හැකි නො වේ. අඟලක් පමණ මහත ඇති කටුසු හාමි, අඟල් දෙකකට වැඩි නැති එකකු සමඟ එපා යැ. පොරට යන්නට ? අඟල් ගණන මනින්නට අමාරු තරමේ එකකු සමඟ නො වැ පළමු කොට ම පොරට ආයේ ? මම කුමක් කෙරෙම් ද ? ඒ ඔහු ගේ ඉරණම තමා.'

මෙසේ කියමින් අලි රාලහාමි මඳ වේලාවක් හති ඇර ඇර උන්නේ ය. කටුසු හාමි එ තරම් කුඩා වුවත් අලි රාලහාමි ඔහුට විරුද්ධ ව කළ සටන ඉතා

බිහිසුණු ය. පිස්සකු මෙන් කරකැවෙමින් ගස කුඩු කරද්දී, තමා ගේ ඇඟ වටා තුබූ ගස්වල තදින් හැපුණු බව වත් අලි රාලහාමි නො දනී. ඔහු ගේ ඇඟින් ඩා දිය වැගිරෙන්නට විය. හතියට නාසය ඉඩ මදි වූයෙන් කට ද ඇරුණේ ය.

මෙසේ හති දමමින් සිට, වෙහෙස නිසා කෑම ගැන වත් නො සලකා, අලි රාලහාමි ගෙදර දිසාවට හැරුණේ ය. 'අනේ, අර හිවල් හාමි දුන් ඇත්නම්! ඔහු සිතා-ගෙන සිටියේ කටුසු හාමි කො තරම් උසස් කොට ද? හිවල් හාමි සමු වූ විට මාත් ඔහුට කියන්නට ඕනෑ කටුසු හාමි ගේ හපන්කම්. මා මෙහෙමයි කියන්නේ:—

'මා ගහ යට උන්නා. කටුසු හාමි මා දුටුවා විතරයි, පැන-ගෙන ආවා. නඟුටු දෙක ම උස්සා-ගෙන මා දිව්වා තමා. කටුසු හාමි මා දිවූ බව නොදන ඒ ගස කඩා පාගා කුඩු කළා.' මෙසේ ම තමා හිවල් හාමිට කියන්නට ඕනෑ. ඔහුට ලජ්ජා හිතෙන්නට.

අලි රාලහාමි මෙසේ සිතමින් ගෙදර ගොස් වෙහෙස නිවා-ගන්නා පිණිස මඳක් ඇල වූයේ ය. හාමිනේ ළඟට අවුත් ඇඟ අත ගා ආදරය දක්වා 'ඇයි මේ උදේ නිඳ ගන්නට සැරසෙන්නේ ?' යයි ඇසුවා ය.

'මට ටිකක් වෙහෙසයි.'

'කුමක් කළා ද ?'

'අර කටසු හාමි මට සරදම් කළා. ඉතින් මගේ තරහ ඇවිස්සුණා. වෙන කරන්නට දෙයක් නෑ,

ගසත් සමඟ කඩා ඇද කුඩු කුඩු කළා. ඔහු තවත් සරදම් කරන්නේ නෑ.'

'අනේ, මේ කුමක් කරනවා ද ? මා දන්නේ නෑ. කටුසු හාමි සමඟ කෝලාහල කරන්නට ඔබට වටිනවා ද ? ඇයි කුඹියකු සමඟ යුද්ධ නො කළේ?'

'කුඩාවුන් සමඟ හැපෙන්නට යෑම අපට වටින්නේ නෑ තමා. ඒත් අද මගේ තරහ හොඳට ම ඇවිස්සුණා. ඒ ජඩයා මට ඉවසන්නට බැරි සරදමක් කළා නොවැ ?'

'කවර සරදමෙක් ද ?'

'ඔබ මතක් කොට සරදම් කළා.'

'කුමක් කීවා ද ?'

'කොහොම ද හාමිනේ ගේ සැප සනීප ?' කියා ඇසුවා.'

'ඉතින් ඒක සරදමෙක් ද ? ඔබ කුමකට ද එ වැනි දේ ගණනකට ගන්නේ ?'

අලි රාලහාමි ගේ තරහ යළි දු ඇවිස්සුණේය:

සරදමෙක් නො වෙයි! හාමිනේ මතක් කර දෙඩුවා ම උපාසකයකු ගේ උනත් තරහ ඇවිස්සෙනවා. නොදන්නා දේ ගැන නො දෙඩා ඉන්න.'

'ගැරඬි මරා පව්ගන්නට එපා'ය යි කීමෙක් තිබෙනවා නො වේ ද ?'

'තිබෙනවා, එහෙත් ගැරඬියා වුණත් නො මරා බැරි තැනුත් තිබෙනවා.'

අලි හාමිනේ නිහඬව, සැමියා ගේ ඇඟ අත ගා ඔහුට නිඳ ගන්නට හැර, තමා ගේ කටයුත්තට ගියා ය.

7. පරිච්ඡේදය

# අලි හෙම්බිරිස්සාව

එහෙත් අලි රාලහාමිට නින්ද නො ආයේ ය. ඔහුට සන්නිප මදි ලෙසෙක් වැටැහෙයි. මොළය හොඳ නො වේ. හිසේ ඇම්මක් ඇති සේ ද දැනෙයි. වරින් වර මොළයේ කැසිල්ලෙක් ද ඇති වෙයි.

සැමියා නො නිඳ පෙරළෙන බව දුටු අලි හාමිනේ නැවතත් ළහට අවුත් ඇඟ අතගා,

'ඇයි, ඒ මේ අත පෙරළෙන්නේ ?' යැයි ඇසුවා ය.

'මට හෙම්බිරිස්සාව වාගේ' යැයි කියමින් රාලහාමි කෙඳිරි ගෑවේ ය. ආදරය ඇති අය ළහට එන විට සමහරුන්ගේ ලෙඩ වැඩි වන බව දන්නා අලි හාමිනේ හොඳට ම ළං වී හොඳට ම ඇඟ අත ගෑවාය. රාල හාමි ගේ කෙඳිරිය ද වැඩි විය.

අලි හාමිනේ සැමියා ගේ නළලට අත තබා, පපුවට අත තබා, පිටට අත තබා, මුහුණට මුහුණ තබා නියම අලි ලීලායෙන් උණ බැලුවා ය.

'උණ නෑ, උදය ගස් කඩා බිඳ දැමුවා ම ගස්වල පිනි වැටෙන්නේ නැද්ද ? පිනි බෑ නිසා හෙම්බිරිස්සාව හැදෙන්නට එනවා වාගෙයි.'

'ඇයි, මේ මොළේ අමාරුව නාසයේ කැසිල්ල තමා ඉවසන්නට බැරි.'

අලි හාමිනේ සිහින් කෝටුවක් ගෙන සැමියාගේ නාසය ඇතුළට එබුවා ය. අලි රාලහාමි මරහඬ නඟා-ගෙන නැඟී සිටියේ ය. ඔහුගේ ඇඟ හැපී හාමිනේ ඇද වැටුණා ය. එහෙත් සැණෙන් නැඟී සිට සැමියා ළඟට අවුත් කරුණු විමසන්නට වූවා ය.

'ඇයි, අනේ, කෝටුව මොළේ ඇනුණා ද ?' අලි රාලහාමි මහ හඬින් කිවිසින්නට වූයේ ය. දෙ වරක් කිවිසි මහ හඬ නඟා ගෙන ඒ මේ අත දුවන්නට වූයේය. අලි හාමිනේ සැමියා නො හැර පස්සෙන් දුවයි. කිහිප වරක් ඒ මේ අත පැන අලි රාලහාමි බිම වැටී පෙරළෙන්නට වූයේ ය. අලි හාමිනේ කිසිවක් කැර-ගත නො හී වැලැපෙන්නට වූවා ය.

අලි රාලහාමි මඳ වේලාවක් ඒ මේ අත පෙරළී නිසොල්මන් වූයේ ය. හාමිනේ එවිට ළඟට අවුත් මහත් දුකින් අඬමින් කරුණු පිළිවිසියා ය.

'අනේ, මේ කුමක් වුණා ද ?'

'මා දන්නේ නෑ. මට කිවිසිල්ලක් ගියා විතර යි, ඉදි කටු අනින්නා වාගේ දැනුණා. ඉවසා-ගන්නට බැරිව තමා මා ඒ මේ අත දිව්වේ.'

'තවමත් ඒ වේදනාව දැනෙනවා ද ?'

'දැන් නෑ, ඒත් මොළේ හොඳට ම බරයි මේ බලන්න, හොටු ගලන සැටි.'

අලි හාමිනේ ලොකු කොළ අත්තක් කඩා ගෙන හොටු පිස දැමුවා ය.

'ඉතින් නො සෙලැවී ඉන්න. මා ගොස් වෙද හාමි එක්ක එනවා.'

මෙසේ කියා අලි හාමිනේ එතැනින් ගියා ය. මොහොතෙකින් හිවල් හාමි එතැනට පැමිණියේය. හේ මඳක් ඈත් ව සිට අලි රාලහාමි සමඟ දෙඩුවේ ය.

'රාලහාමි අසනීපයෙන් වගෙයි.'

අලි රාලහාමි හිස මඳක් ඔසවා බලා, හිවල් හාමි ඇඳින, කෙඳිරි ගාන්නට වූයේ ය.

'ඔව් මට හෙම්බිරිස්සාව් හැදී-ලා බොහො ම අමාරු යි.'

'රාලහාමි, මොළේ හෙම්බිරිස්සාව ද ?' පපුවේ හෙම්බිරිස්සාව ද ?'

'මොළේ හෙම්බිරිස්සාව, හෙම්බිරිස්සාව නම් ඉවැසිය හැකි. මොළේ කන්නා වගේ දැනෙනවා. එයයි ඉවසන්නට බැරි.'

'කැස්සත් තිබෙනවා ද, රාලහාමි ?'

'නෑ.'

'උණ ?'

'උණක් දැනෙන්නේ නෑ.'

'රාලහාමි පිනි බැව ද ?'

'අද උදේ අර කාලකණ්ණි කටුසු හාමි හිටි ගස අල්ලා ඇද බිඳ දමා පොඩි කළා. ඒ ගසින් පිනි ටිකක් ඔළුවට වැටෙන්නට ඇති.'

'හ හ හා!'

මෙසේ කියා හිවල් හාමි සිනිවිල්ලට වැටුණේ ය. මඳ වේලාවක් හිස වනමින් සිතා බලා, නැවතත් දෙඩන්නට වූයේ ය.

'රාලහාමි, ඒ කටුසු හාමි කුඩා වුණත් බොහෝ ම නපුරු යි, හරි මන්ත්‍රකාරයා. කොඩිවිනයක් වත් කළා ද දන්නේ නෑ.'

'උගෙත් මගෙත් කොඩිවින! උන්දෑ දූන් ඉවර යි.'

අලි හාමිනේ වෙද හාමිත් සමඟ වහවහා එනු පෙනෙන්නට වූයේ ය. හිවල් හාමි ඒ බව කියා යන්නට නැඟුණේ ය.

අලි හාමිනේ ඉක්මන් කොට අවුත්, වෙද හාමිට ඉඳ-ගන්නට සලස්වා, සැමියා ළඟට අවුත් වෙද හාමි පැමිණි බව කීවා ය. අලි රාලහාමි තදින් ම කෙඳිරි ගාන්නට වූයේ ය.



ඒ වෙද හාමි නම් අනෙකෙක් නො වේ. වලස් හාමි ය. හේ කැඳවන ලදුව, අලි රාලහාමි ළඟට අවුත් තොරතුරු ඇසී ය. අලි හාමිනේ සියල්ල සිදු වූ සැටි කීවා ය.

පළමු කොට වෙද හාමි ලෙඩා ගේ නාඩි අල්ලා බැලුවේ ය. ඉදිරි දකුණු පය ගෙන නාඩි බලන කල්හි අලි රාලහාමි ඒ වැරැදි බව කියා, අත ගෙන නාඩි බලන ලෙස කියේ ය. වෙද හාමි ඊට එකඟ නුවූයේ ය.

'ඔබ එයට ''අත'' යි කියතත් පොතේ කියන්නේ ''නාසය'' යි කියා. නාඩි බලන්නේ අතේ, නාසයේ නො වේ.'

වෙද හාමි ඊ ළඟට ලෙඩාගේ පපුව පරීක්ෂා කෙළේ ය. ඇස් හරවා බැලී ය, දිව ද එළියට දමන්නට කී ය. බඩට ද අතින් තට්ටු කෙළේ ය. නාසයෙන් ගලන සොටු මඳක් ලේ මුසු බව දැක හේ හිස සලන්නට වූයේ ය.

මඳ වේලාවක් නිහඬ ව සිට වෙද හාමි මෙ සේ කී ය:–

'බය ගන්නට දෙයක් නැ. උණ නැ. හෙම්-බිරිස්සාව තමා. පීනසට හැරෙන්නට බැරි නැ. කුමක් වුවත් පරිස්සම් වෙන්නට ඕනැ. හුළං ගැහෙන්නට එපා. තෙත් බිම පය ගහන්නට එපා. හොඳට පොරවා-ගෙන, නිඳ-ගන්න. දූනට ඉඟුරු කොත්තමල්ලි දුන්නා ම ඇති. හොටුවල ලේ වැඩි වුණොත් කියන්න. නාසයට උරන්නට කුඩකුත්, ඔළුවේ ගාන්නට තෙලකුත් දෙනවා. කීප දවසකට සීතල කෑම කන්නට එපා.'

'අනේ, වෙද හාමි මට නම් නො නා ඉන්නට බැහැ.'

'හා හා නෑම හොඳ නැ!'

වෙද හාමි මෙසේ කියා යන්නට ඉගිළුණේ ය. අලි හාමිනේ යම් කිසිවක් ඔහු ගේ අතෙහි තුබුවා ය. වෙද හාමි එය ගනිමින් මඳ කොට සිනා සී, හිස නමා යන්නට වන.

8. පරිච්ඡේදය

# වලස් වෙදකම

අලි රාලහාමිට එදා රෑ නින්දෙක් නැත. රාල හාමිට පමණක් නම් කිමෙක් ද ? හාමිනේ නිඳන්නට සැරසුණේ වත් නැත. රාලහාමි ගේ මහ හඬ නිසා මුළු වනය ම ඇස නොපියා සිටියේ ය.

වෙද හාමි නියමම කළ බෙහෙත් එකෙකිනුත් මඳ වූ ද සුවයෙක් නැත. අලි හාමිනේ රාලහාමි හොඳ හැටි සතප්පා කොළ අතු ගොඩෙකින් සියලු ශරීරය වසා බලාසිටී. කෙඳිරි ගගා උන් සැටියේ ම රාලහාමි මහ හඬ නඟා-ගෙන උඩ පැන ඒ මේ අත දිවෙන්නට වෙයි. හාමිනේ උඩ ගොස් බිම වැටෙයි. රාලහාමි පස්සේ ගොස් නැවැතත් කැඳවා-ගෙන අවුත් සතප්පයි. කොළ අතු ගොඩෙකින් වසයි. මඳ වේලාවක් කෙඳිරි ගාමින් සිට යළිදු රාලහාමි මර හඬ දෙයි, නැහෙයි, ඒ මේ අත දිවෙයි, කොළ අතු සීසීකඩ යෙයි. හාමිනේ ද උඩ යෙයි. බිම වැටෙයි. රාලහාමි යානට ගෙනෙයි. සතප්පයි, කොළ අතුවලින් වසයි. මුළු රැය ම ගත වූයේ මෙයින් තමා.

උදසනක් සේ ම කොටි දෙ-මහල්ලෝ ලෙඩා බලන්නට පැමිණියෝ ය. කොටි රාලහාමි දූක අලි රාලහාමි හඬන්නට වූයේ ය. අලි හාමිනේ අමුත්තනට අසුන් සලස්වා වේලාවට සුදුසු සංග්‍රහ කෙළේ ය. කොටි රාලහාමි ලෙඩෙහි තොරතුරු විමසමින් මඳ වේලාවක් සිටියේ ය.

'ඊයේ රෑ අපටත් නින්දෙක් නෑ . මේ රාල හාමි ගේ හඬ ඇසී මා රෑම එන්නටයි සැරසුණේ අපේ හාමිනේ කීවා "රෑ යන්නට එපා ය" කියා ඉතින් එළි වන්නේ කවර වේලේ ද" කියා බල–බලා සිට යන්තම් ඉර එළිය වැටෙන වාත් සමඟ ම මේ ආවා. ඉතින් ඕනෑ යමක් තිබෙනවා නම් කියන්න. අපට පුළුවන් දෙයක් කරනවා.'

කොටි රාලහාමි මෙසේ කී කල අලි හාමිනේ සුදුසු පිළිතුරු දුන්නාය.

'අනේ ආවාට බොහොම ස්තුති යි. ඕනෑ කමක් ඇත් නම් කියනවා ඔබට නො කියා වෙන කාට ද අප කියන්නේ ?'

ඉක්බිති කොටි දෙ-මහල්ලෝ සමුගෙනැ නික්මුණෝ ය.

වලස් දෙ-මහල්ලෝ ඊ ළඟට පැමිණියෝ ය. වෙද කමට ඊයේ ආ නමුත් හාමිනේ සමඟ එන්නට බැරි වුණු නිසා දූනුත් ආ බව කියා වලස් හාමි

නැවත ද ලෙඩා පරීක්ෂා කෙළේ ය. අලි හාමිනේ තොරතුරු කීවා ය.

'අනේ, වෙද හාමි, ඊයෙ රෑ ඇහැ පියුවේ නැහැ.'

'එහෙම තමා ලෙඩක් වුණා ම. ලෙඩා ලොකු වුණ තරමටයි අමාරුව අපට නම් හෙම්බිරිස්සාව මෙතරම් අමාරුවක් නො වේ.'

වෙන ද හැදෙන හෙම්බිරිස්සාව වගේ නො වෙයි වෙද හාමි, මේ මෙය අලුත් හෙම්බිරිස්සාවක්. රට හෙම්බිරිස්සාව වෙන්නට ඇති. මෙය බෝ වෙනවා ද, වෙද හාමිනේ ?'

'තදින් ම බෝ වෙනවා.'

අලි හාමිනේ ගේ ඇඟ සීතල වුනේ ය. එවිටම තද කිචිසිල්ලෙක් ද ගියේ ය

'වැරදුණා තමා, මට දූනටම බෝ වුණා වගෙයි.'

ඉතින් එතරම් බය ද හෙම්බිරිස්සාවට ?'

බයෙක් නො වේ. මේ වගේ මර හඬ දෙන්නටත්, දුවන්නටත්, දඟ-ලන්නටත්, පිළිවන් කාට ද ?'

වෙද හාමි කට කොනකින් සිනා සෙමින් ලෙඩා දෙස බැලුයේ ය. ඒ කියුම් අසා – අසා, බැලුම් බල බලා ඉන්නට පුළුවන් කාලයෙක් නො වෙයි ලෙඩාට දූන් ඉවැසිලි සියල්ල කෙළවර ය. කෙඳිරිය

ක්‍රමයෙන් වැඩි ව එක් වර ම මර හඬෙක් නැඟුණේ ය. අලි හාමිනේ පුරුදු පරිදි උඩ ගොස් බිම වැටුණා යෑ. අලි රාලහාමි නැඟී සිට පළමුකොට බමරයක් මෙන් කරකැවෙන්නට වූයේ ය. වසා තුබු කොළ අතු ඒ මේ අත වීසි වී ගොස් වලස් දෙ-මහල්ලන් ගේ ඇඟ උඩට ද වැටුණේ ය.



වලස් හාමිනේ බඹ සියයක් පමණ දිව ගොස් හැරී බැලුවා ය. වලස්හාමි පෙනෙන්නට නැත. සොය-සොයා ඉන්නට වේලාවක් නොවන හෙයින් වලස් හාමිනේ ගෙදර ම දිවුවා ය. ඇයට පළමු ව ගෙදර ඇවිත් සිටි වලස් හාමි මහ දෙස බලා සිට ගෙ තවමත් හති දමයි.

අලි රාලහාමි කරකැවී වනය බිඳගෙන දුවන්නට පටන් ගත්තේ ය. ඒ අත දිවුවේ ය. මේ අත දිවුවේ ය. වටේට දිවුවේ ය. වරක් පස්සෙන් ආ අලි හාමිනේ පෙරළා–ගෙන දිවුවේ ය. අන්තිමයේ දී හොඳටම හති වැටී හැරී අවුත් බිම පෙරළුණේ ය. අලි හාමිනේ ද ළඟට ඇදී හඬන්නට වූවා ය.

ලෙඩා බලන්නට පැමිණි බොහෝ අය හිස් ලූලූ අත දිවූහ. ගෝණ දෙ-මහල්ලෝ දූනකට දිව ගියෝ ය. මුව දෙ-මහල්ලෝ ගෙදර ද බලා ගත නොහැකි ව බොහෝ ඈත පැන ගියෝ ය. හා දෙ-මහල්ලෝ මහ ගලක් යට වූ බෙනයකට වැද-ගත්හ. ඌරු දෙ-මහල්ලෝ මඩ වළකට බැස සැඟවුණාහ.

හිවල් දෙ-මහල්ලන්ගෙන් හාමිනේ දුවන්නට සැරසුණු නමුත් හිවල් හාමි එයට ඉඩ නුදුන්නේ ය. හේ හාමිනේ ද සමඟ ගසකට මුවා වී බලා සිටියේ ය. අලි රාලහාමි ගේ දරුණු කම වැඩි වන්නට හිවල් හාමිනේ වෙවුලන්නට වූයෙන් හිවල් හාමි ගොස් ඇය ගෙදර නවත්වා හැරී ආයේ ය.

දැන් වැඩි කලබලයෙක් නැත. අලි රාලහාමි කෙඳිරි ගාමින් බිම වැතිර සිටී. අලි හාමිනේ අඬ-අඬා රාලහාමි ගේ ඇඟ අත ගාන්නී ය.

9. පරිච්ඡේදය

# හිවල් උපාය

හිවල් හාමි මඳ වේලාවක් ඈත් ව සිට කලබලයෙක ලකුණු නැති හෙයින් සෙමෙන් සෙමෙන් ළං වූයේ ය. අලි රාලහාමි ගේ ඇස් තදින් ම පියැවී තුබුණේ ය. හාමිනේ වරින් වර ඇස් ඇර බලයි. එහෙත් හිවල් හාමි ඇය ගේ ඇසට නො වැටුණේ ය.

අන්තිමයේ දී හිවල් හාමි පෙනෙන්නට ම ආයේ ය. අලි හාමිනේ ඔහු දුක නැඟී සිටියා ය. හිවල් හාමි පළමු කොට දෙඩුවේ ය.

'දූන් රාලහාමිට ගුණ ද, හාමිනේ ?'

'ඇති ගුණයෙක් නෑ. අනේ, හිවල් හාමි.'

'ඉතින් ඒ වෙද කම් ම ද, කරන්නේ ?'

'ඔව්, වෙන වෙද කමක් අසා-ගන්නට යි සිටියේ. දූන් වෙද හාමි, හාමිනේ ද සමඟ මෙහි ආවා. ටික වේලාව යි හිටියේ. අපේ රාලහාමිට නිකම් පිස්සුවක් ආවා. මහ හඬ නැඟුවා, නැඟී සිටියා, බමරයක් වාගේ කරකැවුණා. දිවුවා කැලේ බිඳගෙන. වෙද

හාමිත් හාමිනේත් කොයින් ගියා ද කියා පෙනුණේ නෑ.'

'ඇයි ඒ ?'

'අනේ, මා දන්නේ නෑ. ඊයේ රෑත් එ පමණයි ඇහැ පියන්නට ලැබුණේ නෑ.'

'ඉතින් බලා ඉන්නට හොඳ යැ ? වෙන වෙද කමක් වත් කරන්නට ඕනෑ නො වේ ද ?

'ඔව්, හිවල් හාමි, මෙහෙම බලා ඉන්නට බැහැ. අනේ කියන්න හොඳ වෙදකු ගැන දන්නවා නම්.'

'වෙන වෙදෙක් මෙහි නෑ. මා අර ගමේ නැති ව ටික කලක් ගෙවුණා නො වේ ද ? ඒ කාලේ මා සිටියේ බොහෝ ම සමර්ථ වෙදකු ළඟ. අපේ වර්ගයේ වෙදකු ළඟ නො වේ. මිනිසුන් ගේ වෙදකු ළඟ. ඒ කාලයේ හොඳ හොඳ වෙදකම් මා ඉගෙන ගත්තා. මා පිට වෙද කම් කරන්නට ගියේ නෑ. අපේ ගෙදර ලෙඩක්වුණාට වෙන වෙදුන් ගෙන්වන්නේ නෑ. මා දන්නා වෙදකමුයි කරන්නේ. හාමිනේ, මා මුලදී ම කියන්නට හිටියා. බැරි වුණා. කමා කරන්න. මා හිටියේ හාමිනේත් එක්ක එන්නට. ඊයේ රෑ හාමිනේට ඇඟ සලිත කොට උණ ගැනුණා. ඇහේ වී ටිකක් මා දැමුවා විතර යි' පොරි වුණා. ඒ තරම් සැරයි උණ ය. ඒ නිසයි, අනේ හාමිනේ, අප දෙන්නාට ම එන්නට බැරි වුණේ.'

'හා, උණ තියෙද්දී එන්නේ කෙසේ ද ? තව ම උණ අඩු නැද් ද ?

'දූන් නම් මගේ ගුරුවරුන් හට පින් සිද්ද වන්නට උණ නෑ. ඒත් දූන් ම ගෙයින් පිට වන්නට හොඳ නෑ.'

'ඉතින් උණ බැස ගියේ කෙසේ ද ?'

'පොඩි වෙද කමක් කළා.'

'ඉතින් කියන්න, කුමක් කළා ද ?'

'එසේත් කියනවා ද, හාමිනේ, වෙදකම් ?'

'අපේ රාලහාමිටත් වෙද කමක් කරන්නට බැරි ද ?'

'ඇයි බැරි ? ඕනෑ නම් මේ ලෙඩ සිකුරට ම හොඳ වන බෙහෙතක් කළ හැකි.'

හිවල් හාමි මෙසේ කීවා විතරයි. අලි රාලහාමි මර හඬ නහා-ගෙන නැඟී සිටියේ ය. කර-කැවුණේ ය, බිම පෙරළුණේ ය, ඇස් තදින් පියාගත්තේ ය, කෙඳිරි ගාන්නට වූයේ ය. අලි හාමිනේ ද තමාට පුරුදු සැටි කෙළේ ය. හිවල් හාමි වෙදකම් මතක නැති කොට බොහෝ තැන් දිව ගොස් යන්තම් හොඳ සිහිය එළවා-ගෙන හැරී බැලුවේ ය. අලි රාලහාමි තමා පස්සේ නොඑන බව දූන ගසකට මුවා වී බලා සිටියේ ය.

දූන් අලි රාලහාමි නිසොල්මන් ය. කෙඳිරි ගෑම නම් නොනැවතුණේ ය. අලි හාමිනේ හොඳ සිහිය ලැබූ පසු හිවල් හාමි සොයා නො දූක වට පිට බලන්නට වූවා ය. හිවල් හාමි මේ අවසරය

ලැබ සෙමෙන් සෙමෙන් ළඟට ම පැමිණියේ ය.

'බය වුණා ද හිවල් හාමි ?'

'නෑ හාමිනේ, මෙ තැන ටිකක් ඉඩ මදි නිසා මා මහ හැරියා විතරයි. මා බය ගන්නේ කුමට ද ? මේ ලෙඩේ මා හොඳට දන්නවා. කීප දෙනෙකුට මේ ලෙඩේ හැදී මා සුව කළා.'

'හිවල් හාමි, අනේ, හිවල් හාමි, අපේ රාල හාමිටත් වෙද කමක් කරන්න.'

'ඉතින් හාමිනේ රාලහාමි සමඟ නො දොඩා වෙද කම් කරන්නේ කෙසේ ද ?'

මෙහි දී අලි හාමිනේ රාලහාමි ගේ ඇඟ අත ගා දෙඩුවා ය.

'නිදි ද ? මේ බලන්න. අපේ හිවල් හාමිට පුළුවන්ලු මේ ලෙඩේට වෙදකම් කරන්නට. ඉතින් ටිකක් ඇස් අරින්න.'

අලි රාලහාමි මහත් කොට කෙඳිරි ගා ඇස ඇර බැලුවේ ය. හිවල් හාමි මුල පිරුවේ ය.

'ඉතින් රාලහාමි, බොහෝම අමාරු හැඩයි.'

'ඔව් අනේ හිවල් හාමි, ඉවසන්නට නම් බැහැ.'

'රාලහාමි කියනවා නම් මාත් මේ ලෙඩ පරීක්ෂා කැර බලන්නං'

'ඉතින් බලන්න.'

හිවල් හාමි ලෙඩ බලන්නට වූයේ ය. නාසය බැලුවේ ය; ඇස අරවා බැලුවේ ය; බලා කට කොනකින් සිනා සුණේ ය.

'රාලහාමි, මේ ඉතා සුළු ලෙඩක්. මීට බොන කන බෙහෙත් ඕනෑ නැහැ. ඉතා ම සුළු ගුරු කමෙකින් මෙය සුව කළ හැකි යි.'

'ඒ ගුරු කම ?'

'කණ්ණාඩියක් දමන්නට ඕනෑ.' මේ දළ දෙක උගුලා දමන්නට ඕනෑ.'

'අලි රාලහාමි සිනාසෙන්නට උත්සාහ කෙළේ ය.'

'ඒත් වෙද කමෙන් ද, හිවල් හාමි'

'රාලහාමි එසේ කියන්නට එපා. රාලහාමිට තේරෙන්නේ නෑ. අලුත් පිළිවෙළේ වෙද කම් තමා මේ.'

'මගේ ඇසේ අමාරුවෙක් නෑ. මගේ දළේ අමාරුවෙක් නෑ.'

'ඒ දෙ පළේ අමාරුවෙක් නොදැනෙන එක හැබැයි. ලෙඩාට ලෙඩේ තේරෙන්නේ නෑ. වෙදට යි තේරෙන්නේ. මේ ලෙඩේ තිබෙන්නේ ඇහෙත් දළෙත්. ඒ නිසයි කණ්ණාඩියක් ලන්නටත්, දළ උගුළන්නටත් නියම කෙළේ.

'කණ්ණාඩිය කියන්නේ කිමෙක් ද ?'

'රාලහාමි එය දන්නෙත් නෑ. ඒත් වෙදකම සුළු කොට සිතනවා. හිටින්න, රාලහාමි, මා මොහොතෙකින් ගුණ පෙන්නන්නට.'

මෙසේ කියා හිවල් හාමි ලැහැබකට ගොස් දිග වැලක් කඩා-ගෙන වළලු දෙකක් ගසා ඒ දෙක එක් කොට වැල් කැබැල්ලක් බැඳ-ගෙන අවුත්, වළලු දෙක අලි රාලහාමි ගේ දූසට සිටින්නට තබා, නවත් වැල් පටක් ගෙන වළලු දෙක නො වැටෙන සේ රාලහාමි ගේ හිසට අල්ලා බැන්දේය.

'හිටින්න රාලහාමි, මේ තමා කණ්ණාඩිය. මීට මතුරන්නටත් ඕනෑ.'

මෙසේ කියා හිවල් හාමි හයියෙන් මතුරන්නට වන්නේ ය.

'ඕං නමෝ මා කී දේ අසාපන්, කලබල නො කරන්, නිසොල්මන් ව සිටින්, කාරිය සිද්ධ වෙයි. ඒ කාන්ත යි ස්වාහා.'

පුදුමයෙනුත් පුදුමයෙකි. නාසය ඇතුළේ කැසිල්ල අඩුව ගියේ ය. වරින් වර ඉදිකටු අනින්නා මෙන් දූනීම ද නැති විය. අලි රාල හාමි ප්‍රීතියෙන් නැඟී සිටියේ ය.

'ඉතින් හිවල් හාමි මෙයින් ම ලෙඩේ සුව වේ ද ?'

'නෑ, නෑ, රාලහාමි සුව වන්නේ දළ ඉගුළුවාමයි.'

'දළ උගුළන්නේ කෙසේ ද ?'

'මා ඊට ගුරුකම යොදනවා. හොඳ නැකතක් බලා ගන්න ඕනෑ.'

'හුහක් රිදේවි ද ?'

'නෑ රාලහාමි. රිදුණත් එක් මොහොත නො වේ යැ? රාලහාමි බිය ගන්නට එපා. මා එය හොඳ හැටි කරනවා. දිනයක් වේලාවක් නියම කැරැ–ගෙන මා දන්නනවා.'

මෙසේ කියා අලි දෙ–මහල්ලන් නවතින්නට කියද්දී හිවල් හාමි නික්ම ගියේ ය.

10. පරිච්ඡේදය

# අලි දළ උගුළන හැටි

හිවල්හාමි කෙළින් ම ගියේ ගොවි හාමි සමු වන්නටය. එහෙත් කෙසේ සමු විය හැකි ද ? ගොවි ගෙදරට යෑම නො සිතිය හැකි ය. ගොවි ගෙදර තිබියේ වා, ගොවි පළේ මායිමට ළං වීම ද සනීපයට හොඳ නො වේ. ඇයි ? අර කරදර කාර බලු හාමි හැම තැන ම පෙනේ. හොඳ සුවඳක් ලද්ද සේ නාසය බිම ඔබා-ගෙන දුවන බලු හාමිට හිවල් හාමි අසලකට වත් පැමිණිය හොත් වහා දැනෙයි. ඉතින් ළඟට වත් එන්නේ කෙසේ ද ?

හිවල් හාමි බොහෝ වේලා ඒ මේ අත ඇවිද්දේ ය. ඒ ඇවිද්දේ කොහි ද ? ගොවි පළ කොහි ද ? කුමක් කරන්නට ද ? සනීපය රැක ගන්නට නම් ගොවි පළට ළං විය යුතු ප්‍රමාණය හිවල් හාමි හොඳ හැටි දනී. දැන් ඇවිදින්නේ ගොවි පළට වදින්නට සුදුසු වේලාව බලමින් නො වේ. ගොවි හාමි කැලෑ පාරෙන් එයි දැයි බලමිනු යි. හෝරාවෙක් ගියේ ය, දෙකෙක් ගියේ ය, තුනෙක් ගියේ ය, ගොවි හාමි නො එයි.

හිවල් හාමි ගේ ඉවැසිලි දූන් කෙළවර ය. මේ ව්‍යාපාරය හරි නොයන ලෙසය දූන් පෙනෙනුයේ. එහෙයින් හිවල් හාමි දිග සුසුමක් හෙළා පපුවට මඳ ඉවැසිල්ලක් දෙන්නට උත්සාහ කොට, කරට උඩින් ගොවි පළ දෙස බලා, පෙර දූක පුරුදු ළා එළු පැටවුන් ගේ මසෙහි ඇති විය යුතු මෙළෙක් බව ගැන සලකා, දෙ තුන් විටක් ම තලු ගසා, ගෙදර යන සිත ඇති කෙළේ ය. බිම ඇන-ගෙන සිටි පසු භාගය මහත් උත්සාහයෙන් සෙමෙන් සෙමෙන් එසැවී ය. හිස මඳක් සලා යළිදු ගොවි පළ දිසාවට ඇස් හැරැවී ය. ඉක්බිති සැබැවින් ම එක් සිත් සිතා-ගෙන වම් ඉදිරි පස පෙරට තිබී ය.

''තඩ'' යන මහ හඬෙක් වනය මැදින් නැඟුණේ ය. හිවල් හාමි සතර පයින් ම රියනක් පමණ අහසට ගියේ ය. බිමට බට කල ඔහුගේ දෙ කොන මාරු විය. හේ වෙන කිසිවක් නො සලකා ම, හිස් කොන හැරුණු අතට දුවන්නට ඉගිළුණේ ය. එහෙත් තමා කරන්නට පැමිණි ව්‍යාපාරය ? එය හරිගිය හොත් ලැබෙන එළු පැටවු ? උන්ගේ මසේ මෙළෙක ? අර ඇසුණු බියකරු හඬ නිසා දෝ මේ සියල්ල බලාත්කාරයෙන් මෙන් හිවල් හාමි ගේ සිතට පෙරළි ආයේ ය. එ හෙයින් ගොවි පළ කවර දිශායෙහි දූයි සොයන්නට හිස හැරැවූ ඔහුට බඩ අල්ලාගෙන හඬ නො නහා සිනා සෙන ගොවි හාමි පෙනුණේ ය.

හිවල් හාමි ගේ හිතට වැලැඳුණ ලජ්ජාව වැඩිවන්නට පෙර ගොවි හාමි දෙඩී ය.

'ආයුබෝවන්, හිවල් හාමි. අලි දළ දෙක නව ම තුබුණු තැන ද ?'

'ආයුබෝවන්, රාලහාමි. ඒ දෙක එතැනමයි; එහෙත් දැන් උගුළන කාලය ළඟ යි.'

'උගුළන කාලය ද ? ඉගිළෙන කාලය ද ?'

'උගුළන කාලය, රාලහාමි. දැන් අපේ අලි රාලහාමිට ලෙඩක් වැලැඳී බොහෝම අමාරු යි. ඇස් දෙකට කණ්ණාඩියක් දමා දළ උගුළන්නට වෙද හාමි නියම කළා. ඉතින් අපේ 'ව්‍යාපාරය (ජාවාරම) හරි යන්නටයි එන්නේ ?'

'හොඳ අලියා ගේ දළ උගුළන්නේ කවරෙක් ද ?'

'රාලහාමිට තේරෙන්නේ නැද්ද ? ඒ කාරියට හපනා රාලහාමි ම තමා. වෙද හාමි නියම කළෙත් මේ රාලහාමි ලවා දළ උගුළුවා ගන්නට යි. රාලහාමි ගැන අපේ වෙද හාමිත් හොඳට දන්නවා. මෙබඳු සියුම් කටයුතුවලට හරි හපනා බව මාත් අසා ඉන්ද දී ම කීවා.'

ගොවි හාමි ගේ හිස මඳක් කෙළින් විය. තමා ගැන එතරම් උසස් තැනැත්තන් පවා දන්නා බව අසන්නට ලැබීම ඔහුට ප්‍රීතියෙකි. එහෙත් ඔවුන් කියන තරම් හපන්කම් තමන් කෙරෙහි ඇද්ද නැද්ද යනු ඔහුට ම නිශ්චය වශයෙන් නො කිය හැකි ය.

'ඉතින් හිවල් හාමි, අලි හාමි ගේ දළ ඉගිලීම අලි හාමි කෙනෙකුන් විසින් ම කළ යුතු නො වේ ද ?'

'එ සේ කළත් වරදෙක් නො වේ. එහෙත් අලි හාමිනෝ ගේ ආදරය වැඩි කම නිසා එබඳු කටයුත්තක් කරන්නට බැරිලු. ඒ දෙ දෙනාගේත් කැමැත්ත රාලහාමි ලවා ම මේ කටයුත්ත කරවා ගන්නට යි.'

'මගෙන් බාධාවෙක් නෑ; එය කරන්නේ කෙසේ ද ?'

'මට පුදුම යි රාලහාමි දක්වන බොළඳ කම ගැන. රාලහාමි ගේ ගෙයි යට ලී නැද්ද'

'තිබෙනවා'

'කවුළු නැද්ද ?'

'තිබෙනවා.'

'දිග කඹ නැද්ද ?'

'තිබෙනවා'

'ඉතින් අලි සිය දෙනකු ගේ දළ උගුළන්නට බැරි ද? රාලහාමි ඒ ගැන සිතන්නට එපා. රාලහාමිට දළ දෙක. මට එකක් වත් එපා. මට එළු පැටවුන් දෙන්නා. – හරි ද ?'

'ඔව්. ඉතින් දළ ඉගිලීම කරන්නේ කෙසේ ද ?'

හිවල් හාමි මෙහි දී දළ උගුළන පිළිවෙල පැහැදිලි කොට කියා දුන්නේ ය. ගොවි හාමි මහත් ප්‍රීතියට

පැමිණියේ ය. වෙන කිසි තැනෙක නැති තරම විශාල අලි දළ දෙක තමාට ලැබුණා සේ ම සිතා-ගත්තේ ය. හිවල් හාමිට පමණක් යම් කිසි අඩුවක් ඇති සේ පෙනිණ. හේ ඒ අතට ඇඹැරෙයි, මේ අතට ඇඹැරෙයි, ගොවි හාමි ගේ මුහුණ බලයි, ගොවි හාමිට ඒ කිසිවක් නො තේරේ.

'රාලහාමි'

'ඇයි, හිවල් හාමි ?'

'අර ගණනින් බාගයක් වත් මට දූන් දෙන්න. අපේ ව්‍යාපාරය හරි ගියා වගේ ම නොවේ ද ?'

'කවර ගණනින් ද ?'

මට දෙනවා යැ යි කී ගණනින් ?'

'හා එළු පැටවුන් දෙ දෙනා ගෙන් ? නෑ, හිවල් හාමි බඩු නො ලබා මිල දීමෙන් මා රැවැටුණු වාර අනන්තයි. මෙහි දී ඒ රැවටීම මට ඉඳ-හිට-ලා වත් සමු වී දෙඩීම මේ ව්‍යාපාරයෙන් නැති වී ගියොත් ?'

'ඇයි රාලහාමි, එය නැති වී යන්නේ ?'

'ගන්නට ඉන්නා බඩුවට කලින් මිල දුන්නා ම එවැනි දේ බොහෝ විට සිදු වෙනවා.'

හිවල් හාමිට කාරණය තේරුණේ ය. එ හෙයින් දළ ඉගිලීමට පසු දින එන බව ද ගෙයි යට ලී ද, කවුළුව ද, කඹ ද, එළු පැටවුන් ද සකස් කොට තිබිය යුතු බව ද කියා සමු ගෙන ගියේ ය.

11. පරිච්ඡේදය

# දළ ඉඟිලීම

අලි රාලහාමිට කණ්ණාඩියෙන් බොහෝ ගුණ ඇති විය. එහෙත් ඉඳ-හිට-ලා මොළයේ ඇති වන වේදනාව නො ඉවසිය හැකි ය. අලුත් වෙද කමින් ලැබෙන බව පෙනෙන ගුණ මතක් කොට මඳක් ඉවසන නමුත් ඒ වේදනායෙහි අඩු කමෙකින් නො වේ.

එදා හිවල් හාමි ඇත එනු දුටු අලි රාලහාමිට මහත් සැනැසිලි උපන්නේ ය. 'ඔහු ගේ වෙද කමින් මෙතරම් ගුණ පෙනේ. ඒ හෙයින් සම්පූර්ණ සුවය ලැබෙන බවට සැක නැත. කණ්ණාඩිය ලූවාක් මෙන් ම දළ උගුළුවා දැමීමත් නුවණට හුරු වෙයි.' මේ සිත් සිතා—ගෙන ය අලි රාලහාමි සැනැසිලි වූයේ.

අලි හාමිනේ ද හිවල් හාමි එනු දැක ගෙදර කටයුතු නවත්වා අලි රාලහාමි ළඟට පැමිණියා ය. දෙ—මහල්ලෝ හිවල්හාමි ඉතා ආදරයෙන් පිළි-ගත්හ; සම්පූර්ණ ගුණය ලැබීම පිණිස නියම කරන කුමක් වුවත් කරන්නට සැරැසී සිටින බව දැන් වූ හ.

'බය ගන්නට එපා, රාල හාමි, සම්පූර්ණ සුවය ලබා දෙමි. වුවමනා මේ හිරිහැරයෙන් – දළ දෙකින්-මිදීමයි. මා ඊට හොඳ නැකැතක් සොයා ගත්තා, ඉතින් යමු.'

'කවරෙක් ද දළ උගුළන්නේ ?'

'අර ගමේ ගොවි හාමි, හරි හපනා ඒ කටයුත්තට. රාලහාමි දන්නෙ නෑ. මා ඇත්තක් කියනවා. මේ කැලේ සියලුම වර්ගවල ඇත්තත් එබඳු කාරියකට යන්නේ ගොවි හාමි ළඟට මයි. රාලහාමිත් ගොහින් බලන්න.'

'ළඟ දී ගියකු ගැන කියැන්නැ'යි අලි හාමිනේ කීවා ය.

'මගේ ම හාමිනේ ගියා ඇයට තුබුණේ තුනටියේ රුදුව. අපේ කවර කටයුත්තකට ගියත් ගොවි හාමි මුදලක් ගන්නේ නෑ ඉතා ම සැලකිල්ලෙන් කටයුත්ත කරනවා. ඉතින් හාමිනේ පුටුවක් උඩ ඉන්ද කරට මුව පිස්නයක් (තුවායක්) දමා දත ඉගිළුවා. හාමිනේ ගියේ බොහොම හයින්. උන්නේ ඉවුල–වෙවුලා. ගොවි හාමි කොතරම් දක්ෂ අන්දමට දත ඉගුළුවා ද කීවොත්, ඒ බව දන්නෙත් නෑ.'

'ඉතින් ඉතින් ?'

'අන්තිමයේ දී මා කීවා 'ගෙදර යමු'යි කියා, 'ඇයි, දත උගුළන්නේ නැද්ද' යි හාමිනේ මගෙන් ඇහුවා. ගොවි හාමිත් මාත් හොඳට ම සිනා සුණා. එවිට තමා හාමිනේ දැනගත්තේ දත ඉගිළූ බව.'

අලි රාලහාමි එවිට ම යන්නට සැරසුණේ ය. හාමිනේ ද යනු කැමැත්ත දක්වූවා ය. හිවල් හාමි එය වැළැක්කුයේ ය.

'හාමිනේ යෑම හොඳ නැ. රාලහාමි ගේ දළ උගුළුවනු දකින විට හාමිනේට තරහ එන්නටත් බැරි නැ. ඒ ඇරුත් රාලහාමි දුටු කල මිනිසුන් ගේ බය බොහොමයි. කොතරම් දේ කියා–ලා ද මා ගොවි හාමි කැමති කරවා–ගත්තේ ? කො–පමණවත් කියන්නේ අලි රාලහාමි මහා සැර කාරයා බවයි.'

මෙහි දී අලි රාලහාමි බසක් හෙළී ය.

'හිවල් හාමි, මා එකක් කියනවා. ඔවුන් අපට කියන්නේ මහ සැරකාරයෝ ය කියා. අපේ මහ සැරයෙන් ගැලැවිය හැකි යි, ඒත් මිනිසුන්ගේ හීන් සැරයෙන් අපටත් ගැලැවිය නො හැකි යි. දුටුවේ නැද්ද, ඔවුන් හීන් සැරේ අපේ නෑයන් පවා, බැඳ-ගෙන උන් ගෙන් මෙහෙගන්න සැටි ?'

'මා දුටුවා රාලහාමි-දිනක් මා දුටුවා මිනිසුන් කීප දෙනකුන් ගස් කපා රාලහාමි කෙනකුන් ලවා අද්දවනවා. රාලහාමි, හැබෑවට ම ඒ රාලහාමිට මොළේ නැද්ද ? ඒ මම නම් මිනිසුන් හොඳින් අල්ලා ඇද පයට යට කරනවා.'

'එසේ කියන්නට එපා හිවල් හාමි, මොළය නැතුවා නො වෙයි. මිනිසුන් ගේ හීන් සැරයට අසු වුණාම අපට කිසිවක් කැර-ගත නො හැකියි. ඒ කිමෙක් ද කියා මා දන්නේ නැ. අප අප අතරේ නිසා කියමු. උන් එකකු මේ කැලේ දී වත් දුටුව හොත්

අපේ සිතට කො තරම් බයක් එනවා ද ? කෙසේ නමුත් අපට සිතෙන්නේ නො පෙනී යන්නට යි.'

'ඉතින් යමු, රාලහාමි' හිවල් හාමි දෙඩීම නවතමින් කීයේ ය. දෙ දෙන වෙන්වූ හ.

ගොවි පළ අසලට අවුත් ඒ දෙ දෙන කැලේ නැවැතුණෝ ය. හිවල් හාමි ගස් අතරින් එබෙන්-නට වූයේ ය. ඈත ගොවි හාමි සිටිනු දුක හිවල් හාමි ඉදිරියට ගියේ ය. කලින් නියම කැර ගත් පරිදි ගොවි හාමි වෙද කමට ගෙදර පිළියෙළ කැර තිබුණේ ය. ගෙදර සිටියේ ගොවි හාමි පමණෙකි. ගොවි හාමිනේ ද ළමයි ද බැහැර ගොස් සිටියෝ ය. බලු හාමි ද ඔවුන් සමඟ ගියේ ය. එහෙයින් ගොවි පළ දූත් හිවල් හාමිට අභය ස්ථානයෙකි.

විනාඩි කීපයක් හිවල් හාමි දෙඩූ පසු ගොවි හාමි ගෙට ගියේ ය. එහි ජනේලයෙකින් පිටතට ලූ මහ කඹ දෙ කොනෙක් විය. කඹ දෙකෙහි ඉතිරි කොන් දෙක ගෙයි මුදුන් යට ලීය මැද කණුව හා සන්ධි වන තැනට තදින් ගැට ගසා තුබුණේ ය.

හිවල් හාමි කැලයට ගොස් අලි රාල කැඳවාගෙන ආයේ ය. ගෙයි කවුළුව ළඟට අවුත් නැවැතුණු පසු හිවල් හාමි අලි රාලහාමිට කොඳුරා යම් කිසිවක් කීයේ ය. අලි රාලහාමි ද කිකරු දරුවකු මෙන් දළ දෙක කවුළුව ළඟට කොට නිසොල්මන් ව සිටියේ ය.

මඳ වේලාවක දී ගෙය ඇතුළින් මිනිස් අත් දෙකක් කවුළුයෙන් එළියට ආයේ ය. කඹකොන් දෙක අලි රාලහාමි ගේ දළ දෙක වටා යවන්නට

වූයේ ය. මිනිස් අත් දෙකේ ඇඟිලි ඉතා කඩිසර ලෙස ඒ මේ අත යෙයි. පැය බාගයෙකින් පමණ කඹ කොන් දෙක අලි දළ දෙකෙහි ඉතා තදින් බැඳුණේ ය. නො ළිහිය හැකි සේ බැඳුණේ ය. හිවල් හාමි ද නුවණ ඇති ලීලායෙන් පසකට වී බලා සිටී.

අවාසනාවෙකි! එ කෙණෙහි අලි රාලහාමි ගේ මොළේ වේදනාවෙක් ඇති විය. ඒ ඉතා බලවති. කිසි ලෙසෙකිනුත් ඉවැසිය නො හැකි ව අලි රාල හාමි මහත් මර හඬක් නැඟී ය. දුවන්නට ද සැරැසුණේ ය. එහෙත් කවර දිවීමෙක් ද ? දළ දෙක එතැනින් ගත නො හැකි ය.

මේ අලි රාල හාමිට මින් පෙර කිසි දිනෙක පුරුදු වූවෙක් නො වේ. මොළේ වේදනාව කීප දිනක් වුවත් පුරුදු ය. මේ දළ බැඳීම එක ද විටෙක පුරුදු නො වී ය. එහෙයින් කීප වරක් දළ දෙක එතැනින් ගන්නට තැත් කළ අලි රාල හාමිට, මොළෙහි වේදනාව ද මතක නැති කරවන තරම් කෝපයෙක් සිතට පැමිණියේ ය. එහෙයින් නැවැත ද මර හඬ නහා ඒ මේ අතට ඇදෙන්නට විය.

දූන් ගොවි හාමි කොහි ද යනු ගොවි හාමි ම නො දනී. ඔහු ගෙයින් පිට වූයේ කො තැනින් ද යනු වත්, පිට වී දිවූයේ පයින් ද අතින් ද යනු වත් මතක නැත.



හිවල් හාමිට මේ ගොර හඬ මඳක් පුරුදු ය. එහෙත් හඬට සුදුසු වන තරම් ඈතට දිව ගොස් බලා සිටින්නට ඔහුට නොමතක නො වී ය.

අලි රාලහාමි දූන් මර හඬ දෙයි, වරක් ඒ අතට අදී. වරක් මේ අතට අදී. ඔහු ගේ හොඬ ද දූන් කඹ දෙ පටයෙහි එති සිටියේ ය. රාලහාමි මරහඬ දෙයි, අදී, මර හඬ දෙයි, අදී. මෙ සේ කිප වරක් අදින විට ගෙය මුදුනින් 'ජරාස්' යන හඬෙක් ආයේය. ගෙය රාලහාමි ගේ ඇඟ උඩට එන ලෙසක් ද පෙනුණේ ය. හිවල් හාමිට ඒ ඇත. තවත් සෙල්ලම්

බල-බලා හිඳුම නුවණට හුරු නො වන බව ඔහුට එක් වරම පෙනී-ගියේ ය. එ හෙයින් හේ තමා ගෙ සියලු අයිතිය සතර පයට පවරා මෙලොව විසීමේ ආසාව හැර දූමී ය. සතර පයෝ සිය යුතු කම් හොඳින් කළහ. එ හෙයින් හිවල් හාමිනේ දූන් හති අරින හිවල් හාමිට පවන් සලයි.

මේ අතර අලි රාලහාමි අලි අමාරුවක වැටුණේ ය. ගොවි ගෙයින් බාගයක් ම රාලහාමි ගේ පස්සෙන් යන්නට පිටත් විය. රාලහාමි මේ කරදරයෙන් මිදෙන්නට බොහෝ වෑයම් කෙළේ ය. එහෙත් ගෙයි බාගය නො නවතී, රාලහාමිගේ දළ දෙකෙහි එල්ලී පස්සෙන් ම යයි. අලුත් පිටට ආදරය දක්වන කෙනෙකු මෙන් යයි.

අලි රාලහාමි එසේ එන ගෙය ද ඇද-ගෙන ම කැලයට වැදී, ගස් දෙකකට හිර කොට ගෙය නවත්වා, කඹ දෙ පට ඇද කැඩී ය. රාලහාමි ගේ කිසි ආදරයක් නැති බව දූන-ගෙන මෙන් ගෙය එතැන ම නැවැත්තේ ය. දළ දෙකෙහි වූ ගැට දෙක පමණක් කැන්ද-ගෙන රාලහාමි ගෙදර ගියේ ය.

12. පරිච්ඡේදය

# සූ ව ය

අලි රාලහාමි ගේ ලෙඩ දූන් ඉතා දරුණු ය. මොහොතක් සැන–සිල්ලේ ඉන්නට නැත. මර හඬ නැඟීම, බමරයක් මෙන් කරකැවීම, ඒ මේ අත දිවීම, බිම පෙරළීම, පිළිවෙළින් කෙරෙයි. නිසි වෙදකම නො කළ හෙයින් මේ මහත් අමාරුවට පත් වූ බව අලි හාමිනේ කියයි. අලි රාලහාමි ද ඒ බව දනී.

'ඉතින් කුමක් කරන්නට ද ? දළ උගුළන්නට සැරසෙන වීට ම මගේ මොළේ කන්නා වගේ දූනුණා. ඉන් මා දහලන්නටත් මර හඬ දෙන්නටත් පටන් ගත්තා.'

'අනේ තව ටිකක් ඉවැසුවා නම්!'

'හාමිනේ දෙඩවනවා. ඒ අමාරුව හාමිනේට හැඳුණා නම්, හාමිනේ-ගෙයින් බාගයක් නො වෙයි-මුළු ගෙය මයි කඩා-ගෙන එන්නේ.'

ඉතින් මීට කුමක් කරමු ද ?'

මේ ප්‍රශ්ණයට උත්තරයක් නො ලැබුණේ ය. අලි රාලහාමි මර හඬ දුන්නේ ය, බමරයක් මෙන් කරකැවුණේ ය, ඒ මේ අත දිව්වේ ය, බිම

පෙරළුණේ ය, නැවත නැවතත් එසේ ම කෙළේ ය. අලි හාමිනේ තවත් බසක් නො කියා යන්නට ගියා ය.

ඒ ගියේ හිවල් හාමි බලන්නට ය. උදේ ම හිවල් හාමිට ආ බය තව ම නොහැරුණේ ය. එ හෙයින් හේ කොහි වත් නො ගොස් ගෙදර ම සිටියේ ය. ඈත කැලෑව පොඩි වන හඬ ඇසී ඒ මේ අත බැලූ ඔහුට පෙනුණේ භයංකර දර්ශනයෙකි.

'හා හා අලි රාලහාමි මා සොයා-ගෙන එන්නේ හොඳකට නො වෙයි. දැන් ම මෙතනින් දුවනවා හොඳයි. හාමිනේ, කාරිය වැරදුණා. අර අලි රාලහාමි එන්නේ අප මරන්නටයි. දුවමු, දුවමු.'

හිවල් හාමිනේ බැලූ බැල්මට ඒ අලි හාමිනේ බව දැන-ගත්තා ය, ඒ බව සැමියාට ද කීවා ය. දෙ දෙනා ම බය මඳක් තුනී කොට-ගෙන ඈත් ව බලා උන්නෝ ය. අලි හාමිනේ, ඈත දී ම, අනේ, අනේ, හිවල් හාමි, අනේ හිවල් හාමි'යි කියමින් හඬමින් ආ හෙයින්, හිවල් හාමිගේ බය සම්පූර්ණයෙන් නැති විය.

'ඇයි හාමිනේ, ඇයි ?'

'අනේ හිවල් හාමි, අපේ රාලහාමිට බොහෝ ම අමාරු යි.'

'දළ ඉගිළුණු අමාරුව ද ?'

'කුමන දළ ඉගිළිල්ලෙක් ද ? ඇයි, හිවල් හාමි දන්නේ නැද්ද ? දළ ඉගිළිල්ල තිබිය දී, දළ දෙකේ කඹ කොන් දෙකක් ගැට ගසා-ගෙන, රාලහාමි කැලේ පොඩි කැර-ගෙන ගෙදර ආවා. ඒ ආ

වේලාවේ පටන් මර හඬ දෙනවා, කර-කැවෙනවා, කැලේ පොඩිකැර-ගෙන දුවනවා, බිම පෙරළෙනවා.'

'අනේ හාමිනේ, රාලහාමි වේදනාව විඳිනව මට බලා-ගෙන ඉන්නට බැහැ. මගේ පපුව පැළෙන්නට වගේ ආවා. ලෙඩ නිසා දළ උගුළන්නට මා කීවා හැබැයි. ඒත් අර රටක් වටිනා දළ දෙක උගුළනවා බලා ඉන්න පුළුවන් කාට ද ?'

මෙසේ කියා හිවල් හාමි කඳුලු හෙළන්නටද සැරසුණේ ය. වමතින් ඇස් දෙකම පිස-දැමුවේ ය.

'ඉතින් හිවල් හාමි කුමක් කළා ද ?'

'මා නො නැවතී ගෙදර ම ආවා.'

'අනේ, හිවල් හාමි, දැන් දළ උගුළන්නේ කෙසේ ද ?'

'මා දන්නේ නෑ. ඒ ගිය තැනට නම් තවත් යන්නට බැහැ.'

'අනේ, හිවල් හාමි, මීට කුමක් කරන්නට ද ?'

හිවල් හාමි මඳ වේලාවක් සිතිවිල්ලේ උන්නේ ය. අග දී ඔහුට සොඳ සිනාවෙක් ද පහළ විය. ඔහු ගේ හිස ද ජය ලැබූ ලීලායෙන් වැනෙන්නට විය.

'හාමිනේ යන්න. මා ලෙඩ සුව කරනවා මගේ ගුරුතුමා ළඟට ගොස්, පොඩි ගුරුකමක් අසා-ගෙන, සැණෙකින් එනවා කිසි බයක් ගන්නට එපා, අද ම ලෙඩ සුව කරනවා හාමිනේ යන්න.'

මෙසේ කියා අලි හාමිනේට අවාර කොට හිවල් හාමි ඉක්මන් ගමනින් යන්නට විය. අලි හාමිනේ ද පපුව මඳක් නිවා-ගෙන ගෙදර ගියා ය.

අලි හාමිනේ ගෙදර යනවාත් සමඟ ම හිවල් හාමි ද වෙන අතෙකින් එතැනට පැමිණියේ ය. අලි රාලහාමි තවමත් මර හඬ දෙයි, කැරකැවෙයි. දුවයි, බිම පෙරළෙයි. ඔහු මඳක් නවතාගැනීමට බොහෝ වේලා ගත විය.

'රාලහාමි, රාලහාමි, පොඩියක් නවතින්න. රාලහාමි ගේ ඉවසිල්ල නැති කම නිසයි මේ ලෙඩ සුව කැර-ගන්නට බැරි. පොඩියක් නවතින්න.'

'අනේ, හිවල් හාමි, මට නම් ඉවසා–ගෙන ඉන්නට බැහැ.'

'තව මොහොතෙකින් සියලු ලෙඩ සුව කරනවා. රාලහාමි, මා කියන දේ අහන්න.'

'ඉතින් කියන්න.'

'මගේ ගුරුතුමා ළඟට ගොස් මා හොඳ ගුරු කමක් අසා-ගත්තා. එයින් ලෙඩ හොඳ වෙනවා ම යි. හැබැයි, ගුරු-තුමාට ගුරු පඬුරු දෙන්නට ඕනෑ. මා ගිවිස්සා-ගෙනයි ගුරු කම කියා දුන්නේ. මට නම් අබ ඇටයක්වත් ඕනෑ නෑ. ගුරු පඬුරු නො දී බැහැ රාලහාමි.'

'කිමෙක් ද දිය යුතු ?'

'එළු පැටවුන් දෙන්නකු දිය යුතු යි'

'කොයින් ද එළු පැටවුන් ලැබෙන්නේ ? කැලේ එළුවන් ඉන්නවා යැ ?'

'රාලහාමි දන්නෙ නැද්ද ? ලෙඩ සුව වී සතියක් විතර ගියාට පසු අර ගොවි ගෙදර දිහාවට යනවා, එවිට ගොවි හාමි බයේ දුවයි, ඉතින්, හොඳ එළු පැටවුන් දෙදෙනකු ගෙන එනවා. මහ කාරියෙක් ද ?'

'හොඳ හොඳ, මා එළු පැටවුන් ගෙනැවිත් දෙනවා. දෙනවා දෙනවා මයි. මගේ ලෙඩ සුව කරන්න.'

'රාලහාමි, එන්න මාත් සමඟ අර ගඟ ළඟට යන්නට. ගඟේ දී නමා ගුරු කම කළ යුතු.'

අලි රාලහාමි ද හිවල් හාමි ද පිටත් ව ගියෝ ය. අලි හාමිනේ හිවල් හාමි ගේ නියමය ලෙස නැවැතුණා ය.

හිවල් හාමි අලි රාලහාමිත් සමඟ ගොස් ගඟට නැමී තුබුණු ගසක් ළඟ දී, අලි රාලහාමිට බැස ඒ නැමුණු ගහට හොඬ අග තබා-ගෙන සියලු ශරීරය දියේ ගිල්වා-ගෙන ඉන්නට නියම කෙළේ ය. අලි රාලහාමි වහා කීකරු විය. විනාඩි පසලොසෙකින් ලෙඩ සුව වන බව හිවල් හාමි කීයේ ය.

දැන් පෙනෙනුයේ අලි රාලහාමි ගේ සොඬ අග පමණෙකි. සියලු ශරීරය දිය යට ය. ලෙඩ සුව කරන්නට සුදුසු අවසරය පැමිණියේ ය.

'කටුසු හාමි, කටුසු හාමි, දැන් හොඳ වේලාව එළියට එන්න. හිටියා ඇති. දැන් රාලහාමි හොඳට ම මට්ටු වී ඉවර යි.'



හිවල් හාමි මෙ සේ කියා ගතවූයේ ඇසිල්ලෙකි. ගඟට නැමුණු ගසේ අත්තක් මත තිබූ අලි සොඬ අගින් කටුසු හාමි නිකුත් විය. වට පිට බැලී ය. කරුණු තේරුම් ගත්තේ ය. වහාම ගසේ ඉහළ අත්තකට නැඟුණේ ය. හිවල් හාමි ඔහු දෙස බලා ඉහි මරා, හොර සිනාවක් සී, ඔහුට මඳක් නවතින සේ සංඥවක් කොට බලා සිටියේ ය.

නියම වේලාව ගත වූ පසු අලි රාලහාමි සෙමෙන් සෙමෙන් ගොඩට ඇදුණේ ය. ගොඩට අවුත් ඇඟ ගසා දමා නාසය මඳක් ශුද්ධ කොට සනීපයේ ලකුණු දක්වා ගෙන සිටියේ ය. හිවල් හාමි ඉතා සැලැකිල්ලෙන් ඔහු දෙස බලා සිට දෙඩන්නට පටන් ගත්තේ ය.

'ඉතින් රාලහාමි ?'

'දැන් ලෙඩ සුව වුණා වාගෙයි.'

'හොඳට ම සුව යි රාලහාමි.'

'හිවල් හාමි, මේ කිමෙක් ද වුණේ ?'

'අප හිතූ හැටි නො වෙයි, රාලහාමි. ගුරුතුමා මට කියා දුන්නා, කටුසු හාමි රාලහාමි ගේ නාසය අස්සෙ ගියා.'

අලි රාලහාමි වෙවුලා-ගියේ ය. කීප වරක් ම පිඹ නාසය පිරිසිදු කෙළේ ය. වට පිට හොඳින් බැලී ය. අන්තිමයේ දී ඇස මඳක් ඔසොවා 'කොහි ද ඒ හාදයා ?' යයි අසන ලීලායෙන් හිස සෙලැවූයේ ය. හිවල්හාමි ද 'අර ඉන්නේ' යැයි කියන ලීලායෙන් හොස්ස ගස දෙසට දික් කෙළේ ය.

අලි රාලහාමි මහත් බියෙන් හිස මඳක් හරවා බැලුවා පමණෙකි. 'ආයු බෝවන් රාලහාමි' යන හඬ ගස දෙසින් නික්මුණේ ය. ඒ කටුසු හාමි ය. අලි රාලහාමි එක් වර ම හොඩ හකුළා-ගෙන දුවන්නට ඉගිළුණේ ය. හිවල් හාමි ඔහු නවතා 'බය ගන්නට කමක් නැහැ'යි කියා ඔහු සමග සෙමෙන් සෙමෙන් අලි ගෙදර දෙසට ගියේ ය. අලි රාලහාමි නම් සොඬ දිග හරින්නේ ම නැත. වරින් වර පස්ස ද බලයි.

'කුඩා සතුන් සමඟ පොරට යන්නට නරක යි, රාලහාමි රාලහාමි ගේ මහ සැරයට කුඩා සතුන් ගේ හීන් සැරය අසුවන්නේ නෑ.'

මෙසේ කියා හිවල් හාමි අලි රාලහාමි මඳක් සනසා ගුරු පඬුරු ද මතක් කොට, නැවැත්තේ ය.

13. පරිච්ඡේදය

# වන වාසීන් ගේ සභාව

අලි රාලහාමි ගේ ලෙඩ සුව වූ බව සියලු තන්හි පතළේ ය. ඒ සමඟ ම නව ද ප්‍රවෘත්තියෙක් පතළේ ය. එනම් කටුසු හාමි නාසය ඇතුළේ යෑමෙන් අලි රාලහාමි ලෙඩ වූ බව ය. එ පමණක් නම් ඉවැසිය හැකි ය. මෙතරම් මහත් අලි රාලහාමි එ තරම් කුඩා කටුසු හාමිට මහත් භයින් පසු වන බව කටින් කට කියැවෙයි.

කො තැනෙක දී වුවත් කටුසු හාමි ගේ නම කියැවුනොත් ඇති. අලි රාලහාමිට එය යම් තම් ඇසුණොත් හොඬ වහා ම හැකිළෙයි, ඇස් කරකැවෙන්නට වෙයි, ඇඟ ගැහෙන්නට වෙයි, සතර පය නැහෙන්නට සැරසෙයි. ඉතින් අලි රාලහාමි කටුසු හාමිට බය බව කටින් කට කියැවෙන්නට මෙය ම මඳෑ ?

මේ කටින් කට යන දෙඩුම අලි රාලහාමි ගේ මහත් නොසැනැසිල්ලට හේතුවෙකි. මේ නිසා ම අලි හාමිනේ බැහැර යාම නැවැත්වූවා ය. දන්නා හඳුනන මුහුණු දුටු විට පෙර ඇය ගේ මුහුණ පිපෙයි, දූන් හැකිළෙයි, තමනට තරම් නොවන්නවුන්

සමහ පොර බදන්නට ගොස් රාලහාමි මේ කැරගත් නින්දව ගැන ම සිතීමෙන් අලිහාමිනේ කෙට්ටු වෙයි.

මේ අස්සේ අලි දෙ මහල්ලනට තව ද කරදරයෙකි. හිවල් හාමි දින පතා ම අවුත් අර ගුරු පඬුරු මතක් කරවයි. 'හෙට බලමු' යි රාලහාමි පළමු වැනි දින කී ය. දෙ වැනි දින කී ය, තුන් වැනි දින කී ය, සතර වැනි දින කී ය. 'රාලහාමි ගේ ''හෙට'' ළඟ දී එන හැඩක් නැතැ' යි කියමින් හිවල් හාමි තොල් මතුරමින් යෙයි. කීප දිනක් ම රාලහාමි ගුරු පඬුරු සොයන්නට ගිය බව ද සැබෑ ය: එහෙත් ඒ ටික දුරෙකි. මේ අලි කටුසු හටන දූන් නොදන්නෙක් නැත. කුරුල්ලෝ ද දනිති. වෙන කාගෙන් බේරුමක් ඇති වුව ද අලි රාලහාමිට කුරුල්ලන් ගෙන් බේරුමක් නැත. අලි රාලහාමි දුටු විගස කුරුල්ලෝ 'කටුසු හාමි' ය කියා මහ හඬනහති. මුලදී අලි රාලහාමි මේ හඬ අසා කැලය බිඳ-ගෙන දිවෙයි. දූන් ඒ කවට කම නිසා රාලහාමිට ගමන් එපා වෙයි. හිවල් හාමි ගේ ගුරු පඬුරු ලැබෙන දිනය කල් යන්නේ මෙ සේය.

වන වාසීන් ගේ අවුරුදු උත්සවය ද දූන් ළඟ ය. එදින වන වාසීහු මහා සභාවක් පවත්වති. ඒ සභාවෙහි මුලසුනට පැමිණෙන්නේ අලි රාලහාමි ය. වෙන ද අලි රාලහාමි ඒ සභාවට යන්නේ මහත් ප්‍රීතියෙනි, මහත් ආඩම්බරයෙනි. එහෙත් මෙ ද සභාව මතක් කරන විට රාලහාමි තැති

ගනි. මේ වාරයේ සභාවේ මුලසුන අනෙකකු විසින් ගත යුතු බවක් ද කිය යි. ඊට අලි හාමිනෝ තදින් ම විරුද්ධ ය. තමා ගේ සැමියා එතරම් මහත් සභාවෙක මුලසුනෙහි හිඳිනු දැකීම ඇයට මහත් ආඩම්බරයෙකි. ඒ ආඩම්බරය අනෙකකුට යනු ඇයට නම් ඉවැසිය නොහැකි ය.

කෙසේ වුව ද උත්සව දිනය පැමිණියේ ය. සභා වේලාව ද ආසන්න ය. සභාව පැවැත්වෙනුයේ වන මැද්දෙහි වූ එළිමහනෙක ය. එය වටා මහ ගස් අහසට නැඟී අතු විහිදුවා-ගෙන සිටි හෙයින් එහි සෙවණ නො අඩු ය. ගස් වෙළා-ගෙන සිටි වැල්වල පිපුණු මලින් සභා භූමිය හාත් පස අතිශයින් සිත් කලු ය. මල් සුවඳින් සියලු කල්හි රමණීය ය.

සභාව බලන්නට එන්නවුන් ගෙන් සභා භූමිය අවට දූන් පිරී-ගෙන එයි. සතර දිශාවෙන් සභාවට පැමිණෙන්නවුනට මහ තබා හාත්පස සෙසු ඉඩ සභාව බලන්නවුනට හැරිණ. තරුණ මහිෂ භටයෝ අට දෙනෙක් පිරිස් හසුරුවති. ඔවුනොවුන් අතර කෝලාහල ඇති නොවන පරිද්දෙන් එක් තැන් වන්නට සුදුස්සවුන් ම එක් තැන් වනසේ පිරිස් විධාන කිරීම මහිෂ භටයන් විසින් කරන ලද්දේ ය.

දූන් සභ්‍යයෝ ද පැමිණෙති. ඉත්තෑ හාමි හාමිනෝ ද පිරිවර ද සමඟ පළමු කොට පැමිණියේ ය. ඉක්බිති හා හාමි හාමිනෝ ද පිරිවර ද සමඟ ආවේ ය. ඉත්තෑ හාමි දූක හා හාමි ආචාර කොට මඳක් සිනා සී වෙන අතකට යන්නට විය.

'හා හාමි. කොහි ද යන්නේ ? එන්න, අප ළඟට ඉඳ-ගන්නට.' මෙසේ ඉන්නෑ හාමි කී කල හා හාමි මහත් කොට සිනා සී මෙසේ කීයේ ය. බොහෝ ම ස්තුතියි.' කමෙක් නෑ. අපට මෙහි ම හොඳ. එද රෑ වැස්සේ තෙමි-තෙමී අවුත් අප සියල්ලන් අපේ ගෙයින් එළවා දැමූ සැටි මතකයි.'

ඉක්බිති මුව දෙ-මහල්ලෝ සහ පිරිවර ද පැමිණියෝ ය. හා හාමි ඔවුනට ආචාර කොට තමා ළඟ නැනට කැඳවී ය. එළු දෙ-මහල්ලෝ ද එ නැනට ම පැමිණියෝ ය. ගෝණ කුලය පැමිණියේ ද එ නැනට ම ය.

වලස් දෙ-මහල්ලෝ ප්‍රීති නාද නංවමින් ආ හ. කාටත් වෙද කම් කරන හෙයින් වලස් හාමි සියල්ලන් අතර ප්‍රසිද්ධ ය. 'මෙහි එන්න, මෙහි එන්න' යැයි කවුරුත් ඉඩ දැක්වූ හ. එහෙත් සුදුසු නැනක් ම බලා වලස් දෙ-මහල්ලෝ හිඳ-ගත්හ.

දැන් සභා වේලාව ඉතා ළඟ ය. එ හෙයින් සභායෝ එක් වර විසි තිස් දෙනා බැගින් පැමිණෙන්නට වූ හ. ඔවුන් වෙන් කොට දැක්වීම ද දුෂ්කර ය. එහෙත් හිවල් දෙ-මහල්ලන් ගේ පැමිණීම කාගේත් ඇසට ලක් විය. හිවල් හාමි ඒ අතට මේ අතට නැමී සියල්ලවුනට ආචාර කෙරෙමින් නැති ඇඳුනුම් කම් දක්වමින්, සියලු කල්හි මඳ කොට සිනා සෙමින්, ඉදිරියට පැමිණී කාටත් යම් කිසිවක් කියමින්, තමාට වඩා ශිෂ්ටයකු නැතිසේ හඟවමින්, පිරිස් මැදින් ගොස් හාමිනේ ද සමඟ පසකට වී හිඳ-ගත්තේ ය.

උරුලෑ හාමි හාමිනේ ද සමඟ පැමිණි බවත් සියල්ලෝම දත්හ. ඔවුන් එන බව දුර දී ම දැනි බොහෝ දෙනා නාසා හකුළුවන්නට වූ හ. 'මොවුන් මෙබඳු තැනකට එන්නේ කුමකට දැ' යි එකෙක් කීය. 'තමන් ගේ ඇති දෙස් තමන් ම නො දැනීම පමණ අවාසනාවක් ඇති විය නොහැකි යැ'යි තව එකෙක් කීය. 'තමා ගේ පැමිණීම සභාවට හිරිහැරයක් බව දැනගත් කල ඉතා උත්තම ගතිය නම් ඒ තැනට නො පැමිණීම යැ' යි තව මුවෙකින් නික්මිණ. කාගේ කොතරම් අප්‍රසන්න භාවය දැක්වුණ ද, ඒ කිසිවක් නො දන්නා උරුලෑ දෙ-මහල්ලෝ ද, සොහොයුරන් මැදට වදින්නවුන් මෙන් පැමිණ හිඳ-ගත්හ.

කොටි රාලහාමි හාමිනේ ද සමඟ පැමිණෙන විට සභා භූමියෙහි ඉඩ නැති තරම් ය. සභාවේ සියල්ලෝ නැඟී සිට ඔවුන් පිළිගත්හ. එහෙත් ඇතැමෙක් ඇස් වෙන අතකට හැරවූ හ. සභාව බව මතක නැති වීමෙන් දෝ ඇතැමෙක් දුවන්නට ද සැරසුණහ. වැඩි සිටියෝ 'නැති ගන්නට එපා. සභාවේ දී කිසි අන්තරායක් සිදු වන්නේ නැත' යනාදිය කියා නැති ගත්තවුන් සැනැසූ හ. ඊයේ යන්තම් තමා අතින් ගැලැවුණු මුව හාමි දෙස බලා කොටි රාලහාමි සිනා සුණේ ය. බඩ ගිනි දිනෙක ළං වන්නට ගොස් යස පාඩමක් ඉගැන්නූ ඉත්තෑ හාමි දැක එක ඇසෙකින් බැලීය; ගෝණ හාමි දෙස බලා ඔහුගේ දිවීමේ සමර්ථ කම ගැන ප්‍රශංසා කෙළේය.

ඌරු හාමිගේ දළ දෙක දෙස බලා මඳක් තිගැ ව, සිට, 'ආයුබෝවන්' යයි කී ය. ඌරු හාමි රාලහාමි කම් නොසලකන්නෙකි. එ හෙයින් සැක බිය නැතිව ම පිළිවදන් දුන්නේ ය.

'ආයුබෝවන් රාලහාමි, එදා අර ගස උඩ බොහෝ වේලා සිටියා ද ?'

'කවර ගස උඩ ද ?'

'අර රාලහාමි මාත් සමඟ පොරයට අවුත් මා හැරුණු විට බයේ නැඟුණු ගහ උඩ ?'

'මා ඒ ගසට නැඟුණේ බයට ද ?'

'නොවේ නම්, එ තරම් වේගයෙන් දිව-ගෙන ගොස් ගසට නැඟුණේ ?'

'නෑ, නෑ, නෑ, ඒ බයට නො වෙයි. මට කැත හිතුණා.'

ඌරු හාමි කොක් හඬ ලා සිනා සුණේ ය, මුවින් පිටතට නික්මී වක් වී ගිය දළ දෙකෙහි ද මුව ඇතුළේ දත්වල ද වෙනස, හොඳින් දක්වමින් සිනාසුණේ ය.

'රාලහාමි, උගත් වැදගත් නිවටයන්ගේ ඉතා ප්‍රසිද්ධ කීමක් තමා ඒ. රාලහාමිට පිළිවන් නම් කිසිත් කැතක් නොසිතා මගේ මස් රස විඳ විඳ තලු

ගස-ගසා කනවා. බැරි බව දැනුණ විට මට නොගිය හැකි තැනකට හැකි තරම් වේගයෙන් දිව ගොස් යන්තම් පණ බේරා-ගෙන පසු ව, පුරසාරම් දෙඩනවා. 'ඇයි දිවුවේ ?' යයි යම් කිසිවකු ඇසුව හොත්, 'චිඃ, චිඃ, ඒ ඌරා ගඳ ගහනවා. කාට ද ළං වන්නට පිළිවන් ?' යනාදිය කියා බලවත් කම, වැදගත්කම, උගත් කම, පණ්ඩිත කම කටින් රැක-ගන්නවා.

මේ කීම ඇසූ හිවල් හාමි වමතින් හිස කසා කට කොනකින් සිනාසුණේ ය. ඌරු හාමි එ පමණෙකින් නොනැවතුණේ ය.

'ඇත්ත කියන්න, රාලහාමි. එද මා ගිය සැණින් ම ගසින් බැස ගියා ද ?'

මේ ප්‍රශ්නයට උත්තර දෙන්නට ඉඩෙක් නො ලැබිණ. 'අලි රාලහාමි, අලි රාලහාමි' යන හඬ සියලු අතින් ඇසෙන්නට විය. කවුරුත් එක් අතක් බලන්නට වූ හ.

සැබැවෙකි, ඒ එන්නේ අලි දෙ මහල්ලෝ ය. රාලහාමි අලුත පුරුදු වූ කණ්ණාඩිය ද ලාගෙන ඉතා බර ලීලායෙන් එයි. හාමිනේ ද තමා ගේ ආදරය දක්වන්නට මෙන් රාලහාමි ගේ ඇඟේ ගැවෙමින් ඇදෙයි. ඒ රැස්වූ පිරිස ප්‍රීති නාද නඟද්දී අලි රාලහාමි හාමිනේ ද සමඟ අවුත් වන්නේ ය.

සභායෙහි කටයුතු ආරම්භ කරන්නට වේලාව පැමිණියේ ය. කොටි රාලහාමි සෙමෙන් නැගී සිටියේ ය.

'හඳයෙනි, හඳාවෙනි,'

'අප ගේ සභාවෙහි මූලාසනයට මම අපේ මහ රාලහාමි යෝජනා කෙරෙමි. මීට යෝජනාවක් නුවුවමනා ය. රාලහාමි අපට අමුත්තෙක් නො වේ. මූලාසනය රාලහාමිට අමුත්තෙක් නො වේ. මේ තාක් පවත්වන ලද අපේ සියලු සභාවල මූලාසනයට මේ රාලහාමි ම පැමිණියේ ය. ඉතින් මේ වාරයේ වෙනසක් විය යුතු යැ ?'

'සභාවෙක ශොභාව වැඩි වශයෙන් රඳ සිටිනුයේ මූලාසනයෙහි ය. එයට සුදුස්සකු පැමිණි කල ශෝභාව පැමිණියේ නම් වෙයි. ඉතින් අපේ රාලහාමිට වඩා මූලාසනයට සුදුස්සකු අප කොයින් සොයා ගනිමු ද ?'

'අපේ රාලහාමි ළඟ දී බලවත් රෝගයෙකින් පෙළුණු බව දනිමු. සම්පූර්ණ සුවය ලැබී රාලහාමි නැවැතත් අප අතරට පැමිණ සිටිනු දැකීම අපට මහත් ප්‍රීතියෙකි. ඒ සුවය අපේ සභා වාරයට කලින් ම පැමිණීම අපේ සභාව සම්පූර්ණ වශයෙන් සඵල වන බවට ලකුණෙකි.'

'තමාට උරුමයෙන් මෙන් පැමිණි මූලාසනය භාර ගෙන අප සියල්ලන් නිසි මඟ යවන සේ මම

අපේ රාලහාමිට මහත් ගෞරවයෙන් ආරාධනය කෙරෙමි.'

කොටි රාලහාමි ගේ දේශනාව මෙසේ කෙළවර විය. එහෙත් එයින් නැංවුණු ප්‍රීති නාදය විනාඩි ගණනක් ම පැවැත්තේ ය. අලි රාලහාමි ප්‍රීති නාද පවත්නා අතර ම නැඟී සිට මූලාසනයට පැමිණියේ ය. ඔහු දේශනාව පිණිස නැඟී සිටීම නැවැත ද ප්‍රීති නාද පැවැත්වීමට වාරය පැමිණ විය. එය නැවැතුණු පසු අලි රාලහාමි මහත් උදර ලීලායෙන් හාත් පස බලා ස්වකීය දේශනාව පටන් ගත්තේ ය.



'භද්‍රයෙනි, භද්‍රාවෙනි,'

'නැවත ද වරක් මේ මහ සභාවෙහි මූලාසනයට මා පත් කැර ගැනීම ගැන ඔබ සියල්ලන් හට ම ස්තුති කෙරෙමි. මගේ රෝගය එ තරම් ඉක්මනට සුව වූයේ ඔබ හැම ගේ මහත් ආදරය නිසා ය. ඔබු ගේ ආදරය මතක් වන විට මගේ ධෛර්‍ය්‍යය ද්විගුණ වෙයි. අද මට මෙහි පැමිණෙන්නට ලැබුණේ එහෙයිනි. එහෙත් මගේ සම්පූර්ණ ශක්තිය තව ම නො ආයේ ය. වෙද්දු මට ගෙදරින් පිට වීම තහනම් කළෝ ය. ඔවුන් ගේ නියමය ද නො සලකා මම ඔබ ගේ මුහුණ දැකීමේ ප්‍රීතිය විඳින්නට පැමිණියෙමි....'

අලි රාලහාමිට කියන්නට ලැබුණේ එපමණ ය. ඔහු ගේ සොඬ හැකුළුණේ ය. ඇස ඒ මේ අත කර කැවුණේ ය. හේ වහා නැඟී කිසිවකු ගැන ද නො සලකා කැලය බිඳ-ගෙන දිවෙන්නට විය. අලි හාමිනේ ද පස්සෙන් වැටුණා ය. ඒ මුළු මහ සභාව මහ කුණාටුවක් පැමිණි මහ මුහුද මෙන් විය.

'කිමෙක් ද, කිමෙක් දෑ ?' යි කවුරුත් අසති. උත්තරයක් දෙන්නෙක් නම් නැත.

14. පරිච්ඡේදය

# කොට් කටුසු වාදය

සභායෙහි කලබලය මඳක් අඩු වූ පසු කොට් රාලහාමි කරුණු විමසන්නට වූයේ ය. 'අලි රාලහාමිට වූයේ කිමෙක් ද ?' යනු හේ කිසි සේත් නො දනී. වෙන දන්නා එකකු ළඟ ඇති සැටියක් ද නො පෙනේ. හිවල් හාමි පමණක් මඳ සිනායෙන් යුක්ත ව පසකට වී ඉඳී. සෙසු සියල්ලෝ ම කැළැඹී සිටිති.

අන්තිමයේ දී කොට් රාලහාමි හිවල් හාමි ළඟට කැඳවා කරුණු විමැසුයේ ය.

'හිවල් හාමි, අපේ අලි රාලහාමිට කුමක් වුණා ද ?'යි කියන්නට පිළිවන් ද ?

හිවල් හාමි මුහුණ හරවන්නට වූයේ ය. හිස කසන්නට වූයේ ය. බිම බලන්නට වූයේ ය. කොට් රාලහාමි ගේ නොඉවැසිල්ල වැඩි වන්නට වූයේ ය.

'කියන්න, හිවල් හාමි, කියන්න, දන්නා දෑයක් කියන්න.'

'රාලහාමි මට හරියට ම කියන්නට පිළිවන් කමෙක් නැහැ. එහෙත් වට පිට බලා විමසනවා නම් හොඳ යි.'

කවුරුත් වටපිට බලන්නට වූහ. අවතාරයක් වත් පෙනෙන්නට නැත.

'කිමෙක් ද හිවල් හාමි ? ඔබට වට පිට බැලුවා ම අවතාර වත් පෙනෙනවා ද ?'

'අනේ, රාලහාමි, වට පිට බලන්නට කීවා ම උඩත් බලන්නට එපා යැ ? අර ගස උඩ ඉන්නා අවතාරය දුටුවේ නැද්ද ?'

සැබැවිනුත් සැබැවෙකි. කටුසු හාමි ගසේ උඩ අත්තෙක අග සිට සිනා සෙයි. තමා දුටු බව දැන වැඩියෙන් ම සිනා සෙයි. 'කටුසු හාමි කටුසු හාමි' යැයි සභායෙන් නැඟුණු මහ හඬ අසා කොක් හඬ ලා සිනාසෙයි. අලි රාලහාමිගේ අවුල දැන සිටි සියල්ලෝ කාරණය හොඳ හැටි-තේරුම් ගත්හ. වෙන වතාවෙක දී නම් සියල්ලවුනට සිනා පහළ වනු නියත ය. එහෙත් මෙ වතාවෙහි වැඩි දෙනාට පහළ වූයේ සිනාව නො වේ. කෝපයයි. අවුරුද්දකට පසු පැමිණි මහා උත්සව දිනය කටුසු හාමි නිසා ඉළවු දිනයක් වැනි වීම කෝපයට හේතුවක් වනු අරුමයෙක් නො වේ.

කොටි රාලහාමි වෙවුලන්නට වූයේ ය. හේ කට අයා ගත් වන ම කටුසු හාමි දෙස රවා ගෙන සිටී. දෙඩන්නට උත්සාහ කරන බව නම් පෙනෙයි.

එහෙත් වචනයෙකුත් මුවින් පිටට නො එයි. ඔහු ගේ කෝපය එතරම් බලවත් ය. කටුසු හාමිට සිනාව මුත් කෝපයට ඉඩෙක් නැත. එහෙයින් හේ හිස නමා කොටි රාලහාමිට ආචාර කොට, යළිත් හිස ඔසොවා, 'ආයුබෝවන්, රාලහාමි' යැයි කිහිප වරක් ම කීයේ ය.

'වසා–පිය, ජඩයා කට. උඩ සිට අවතාර දක්වා අපේ සභාව පාළු කළා මදි ව මෙන් දූන් විහිළු කරන්නටත් එනවා!'

'ඇයි රාලහාමි, එ පමණ කිපුණේ? මා, කිපෙන්නට තරම් දූයක් කළා යැ ? ආචාර කිරීම විහිළුවෙක් ද ? 'ආයුබෝවන්' කීම විහිළුවෙක්ද ?'

'තා වැනි නිවටයකු ගේ ආචාරය, 'ආයිබෝවන්' කීම, අපට කුමට ද ? තගේ තරම තා නොදන්නා බව යි වරද ?'

'මා දන්නවා රාලහාමි, මගේ තරම. එ පමණෙක් ද? මා රාලහාමි ගේ තරමත් දන්නවා.'

'තට මගේ තරම දූන් පෙන්වනවා.'

'මා දන්නවා රාලහාමි ගේ තරම, රාලහාමි නම් රාලහාමි ගේ තරම දන්නේ නැ. මට රාලහාමිට කළ හැකි එකම උදව්ව අර අලි රාල හාමිට කළා වගේ, රාලහාමිට රාලහාමි ගේ තරම අඳුන්වා දීම යි.'

'තෝ ද බල, මට මගේ තරම අඳුන්වා දෙන්නේ ? තා දන්නේ නැද්ද අලි රාලහාමිට කළ හරිය මට කරන්නට බැරි බව ? බලාපිය අලි රාලහාමි ගේ නාසය වගේ නො වෙයි මගේ නාසය. එහි තට යන්නට ඉඩ නෑ.'

'රාලහාමි හිතා ඉන්නේ නාසයේ නො ගොස් කිසිවක් කරන්නට බැරිය කියා. ඇයි, රාලහාමි, එසේ සිතන්නේ ? මා කොයි ගියත් කිම, එයින් රාලහාමි ගේ තරම රාලහාමිට ම දැනුණොත් ?'

'නාසයේ යන්නට බැරි හෙයින් තට යන්නට පුළුවන් මගේ කටේ පමණයි. තා එහි ගියත් බය ගන්නට එපා. මා ඉක්මනට පිට කරනවා, තුඃ තුඃ,' කියා.'

'රාලහාමිට 'තුඃ තුඃ ' කියන්නට වේ ද 'අනේ අම්මේ කියමින් බිම පෙරළෙන්නට වේ ද යනු රාලහාමි දන්නේ නෑ. ඉන්න ඉන්න. වැඩි දවසක් නොයවා රාලහාමිට මා උගන්වනවා.'

'උගන්වාපිය දැන් ම.'

මෙසේ කියමින් කොටි රාලහාමි කටුසු හාමි උන් ගසට නඟින්නට වූයේ ය. හිවල් හාමි ඉදිරියට අවුත් රාලහාමි නැවැත්විය.

'නිකම ඉන්න, රාලහාමි. එබඳු කුඩාවුන් සමඟ පොරයට යාම රාලහාමිට තරම් නො වේ. දුටුවේ නැද් ද, අලි රාලහාමිට වුණ කරදරය ?'

කොටි රාලහාමි නො දෙඩුවේ ය. ඔහු ගේ කෝපය දෙඩුවේ ය.

'කුඩා එකා කුඩා සැටියට සිටිය යුතුයි. අලි රාලහාමි ගේ නො දැනුමෙන් කරදරයට වැටුණාට අපි කුමක් කරමු ද ? එකකුට ඉඩ දුන හොත් සියලු කුඩාවුන් එක් වී අප වනසනවාට සැක නැ'

මේ අතර කටුසු හාමි ද නිකම් නො සිටියේ ය. අතු අග සිට මෙසේ කී ය:

'එන්න, එන්න, රාලහාමි. මා දුවන්නේ නැ. රාලහාමි පිළිගන්නට සැරැසී සිටිනවා.'

මේ වචනය අසා කොටි රාලහාමි අහසින් යන්නට සැරැසුණේ ය. හිවල් හාමි හරස් විය. කොටි රාලහාමි ගේ කනට කොඳුරා හේ යම් කිසිවක් කීයේ ය. කොටි රාලහාමි එයින් සන්සුන් වූ සැටියෙක් පෙනිණි.

හිවල් හාමි ඉදිරියට පැමිණ කටුසු හාමි දෙසට හැරී දෙඩුවේ ය.

'කටුසු හාමි.'

'ඇයි යාළුවා ?'

'ඔබ කියන්නේ මේ අපේ රාලහාමි සමඟ පොරයක් බදන්නට වුවත් ඔබට පුළුවන් බව ද ?'

'එයත් මහ කාරියෙක් ද හිවල් හාමි ? එහෙ නම් දූන් ම ගහින් බැස එනවා ?

'හා හා, දූන් එපා. වේලාවක් අපි නියම කැර-ගනිමු. මා පසුව ඔබට කියනවා. ''ඔබේ නිකම් ම කටේ හපන්කම් ද ? කරන්නට පිළිවන් දේ ද ?' යනු අපි බලමු.'

'හොඳ යි නියම දට රාල හාමි නාවොත් ?'

'ඒ ගැන මා වග කියනවා. මට පෙනෙන්නෙ කටුසු හාමි ගේ කටේ සපන් කම් වාගෙයි. රාලහාමි කාට ද බය ?'

'කාට වුවත් බය නැති බව කාටත් තේරෙනවා. අර උඟුරු හාමිත් කීවා නොවැ ?'

'කමෙක් නෑ දෙඩීමෙන්. මා එනවා රාලහාමිත් සමඟ. දිනත් තැනත් පසුව කියනවා. ඔබ එනවා ද ?'

'නඟුට අග වත් පණ තුබුණොත් එනවා එනවා මයි.'

මෙ තෙකින් දෙඩීම නැවැතිණ. කොටි රාලහාමි වරින් වර ගැහෙන්නට වූ නමුත් හිවල් හාමි ඔහු නළවා–ගත්තේ ය. රැස්ව සිටියෝ සිය නිවෙස් බලා යන්නට වූ හ.

15. පරිච්ඡේදය

# කොටි කටුසු හටන

හිවල් හාමි විසින් කොටි කටුසු හටනට දිනත් වේලාවත් නියම කරන ලදී. සභා භූමියෙහි දී එසේ නොකරන ලද්දේ කාරියෙහි අමාරු බවක් නිසා නො වේ. සෙස්සවුන් දූත-ගත හොත් එතැනට ඔවුන් ද පැමිණීමෙන් හටනට බාධා ඇති විය හැකි නිසා ය.

කොටි රාලහාමි ඉදිරියෙහි දී නම් ඔහුට හිවල් හාමිට වඩා හිතවතෙක් නැත.

'කටුසු හාමි දූන් ම මට්ටු කළ යුතුයි. අලි රාලහාමි ඉක්මන් වී ඒ මේ අත හැරෙන විට පණ බියෙන් කටුසු හාමි රාලහාමි ගේ නාසයට රිංගාගත්තා. අලි රාලහාමිට අමාරු වුණේ එයිනි. ඉතින් කටුසු හාමි සිතා ඉන්නේ අන් සියල්ලන් හටත් ඒ අමාරුව වෙයි කියා, මේ හටනින් නම් කටුසු හාමි මැකෙන්නේ. රාලහාමිට එකවරටත් මදි කටුසු හාමි. එද සභායෙහි දී ම ඔහු මකන්නට රාලහාමි ගියා නම් හොඳ මදී. කටුසු හාමිට පිළිවනි හීන් අතු අගෙක වුණත් ඉන්නට, ඉතින් රාලහාමිට

පිළිවන් ද එතැනට යන්නට ? ඒ නිසා තමා, රාලහාමි එද මා නැවැත්වූයේ. දැන් මා නියම කරන්නේ කටුසු හාමිට බිම ඉන්නටයි. රාලහාමි ගසක් උඩ නැඟී එක් වර ම කටුසු හාමිගේ ඇඟ උඩට පනින්නට ඕනෑ. එයින් කටුසු හාමි ඉවර වෙනවා. මා එය හොඳින් ම දන්නවා.'

හිවල් හාමි මෙසේ කී කල කොටි රාලහාමි ගේ සිත ඉතා සතුටු විය. කොටි රාලහාමි සභායෙහි දී එ තරම් ගෙරුවුවත්, අලි රාලහාමිට වූ හදිය නිසා මඳක් බියෙන් සිටියේ ය. හිවල් හාමි ගේ බසින් ඒ බියදුරු විය.

හිවල්හාමිට කටුසු හාමි ද සමු වෙයි. ඒ වේලාවට කටුසු හාමිට හිවල්හාමි පමණ හිතවතෙක් නැත.

'කටුසුහාමි එද මහා සභායෙහි දී ම කොටි රාලහාමි මට්ටු වෙනවා. මා ඊට ඉඩ නුදුන්නේ ඔබට අන්තරායෙක් වේ දෝ යන හයින්. සභාව පාළු වුණාට කෝපයෙන් සිටි සියල්ලන් එක් වී ඔබ කුඩු කැර දැමුවා නම්, කුමක් කරන්නට ද ?'

'දැන් එසේ වන්නේ නෑ. ඔබ බිම ඉන්නවා. කොටි රාලහාමි ගහකට නැඟී ඔබේ ඇඟ උඩට පනිනවා. එවිට ඔබ කරන්නේ ළඟ ම බිම තිබෙන සිදුරට රිංගා-ගැනීමයි. මා එතැන ම මේ හටනට තෝරා-ගත්තේ ඔබට මේ වාසිය ලැබෙන පිණිස.

ඉතින් කොටි රාලහාමි උඩ පැන කරකැවී තනි ව ම සටන් කොට හති වැටුණාම ඔබ එළියට එනවා. කොටි රාලහාමි ගස උඩට යනවා, පනිනවා, නටනවා, හති අරිනවා. ඔබ සිදුරට රිංගනවා එළියට එනවා.'

'මෙසේ විසි වරක් කළ පසු ඔබේ වාරය පැමිණෙනවා. කොටි රාලහාමි බිම ඉන්නවා ඔහුට කට අරින්නටත් තහනම්. ඇස අරින්නටත් තහනම්, ඔබ ඔහු ගේ ඇස ළඟත් විකනවා, කනත් විකනවා, කිසිල්ලත් විකනවා, යළිත් පනිනවා, යළිත් විකනවා, හැබැයි කටට නම් ළං වන්නට එපා.'

'මෙසේ විසි වරක් කරන විට කොටි රාලහාමිට ඇති වෙයි.'

'කටුසු හාමි, මේ ලොක්කන්ගේ ලොකුකම් බල-බලා අප සිටි කල් ඇති. ඔවුන් ගේ තරම ඔවුනට අඳුන්වා දෙන්නට ඕනෑ. ඔබ තමා ඒ කාරියට හපනා.'

මෙසේ කියා හිවල්හාමි කටුසුහාමිට ධෛර්ය දුන්නේ ය; සටන කරන සැටි ඔහුට කියා දුන්නේ ය. කොටි රාලහාමිට පහර වදිනවාට හිවල්හාමි ඉතා සතුටු ය. දිනක් කොටි රාලහාමි මුව පැටවකු එළා–ගෙන, හාමිනේ ද සමඟ වළඳමින් සිටින තැනට හිවල්හාමි පැමිණියේ ය. ඔහු කොනකට වී බොහෝ වේලා බලා සිටි නමුත් ලැබුණේ රැවිලිත් ගෙරැවිලිත් පමණෙකි. කොටි දෙ-මහල්ලන් ගිය පසු හිවල් හාමි නො

ඉවැසිල්ලෙන් බිම ලෙව කා යන්නට ගියේ ය. එද සිට කොටි රාලහාමිට රිද්දන්ට හිවල්හාමි වාරයක් සොයමින් සිටියේ ය. එහෙයින් මේ පැමිණි වාරය තදින් බද-ගත්තේ ය.

සටන් දිනය පැමිණියේ ය. සටන් බිම වූයේ වනයේ එළි මහනෙක ය. එළි මහන දෙසට ඇළ වී තුබුණු ගසෙක් විය. ඒ ගස ඉදිරියෙහි බිම වූ සිදුරෙකි.

නියම වේලාවට කලින් කටුසුහාමි එතැනට අවුත් ගසෙක අතු අග හිස වන–වනා සිටියේ ය. වේලාව ළං වන විට කොටි රාලහාමි ද හිවල් හාමි සමග පැමිණියේ ය. වේලාවට විනාඩි දහයකට කලින් හිවල් හාමි මල්ලයන් දෙදෙනා ඉදිරියට කැඳවා නීති මාලාව කියා දුන්නේ ය.

1. ‘පහර දෙනුයේ ගසේ කඳ දිගේ අවුත් පහර ලබන්නහු ගේ ඇඟ උඩට පනින්නේ ය.’
2. ‘පහර ලබන්නා කිසිවක් නො කොට කට පියා–ගෙන ඇස පියා–ගෙන සිටිය යුතු ය.’
3. ‘‘නවතිනු’’යයි මා කී විට පහර දෙන්නා යලිත් ගස උඩට යා යුතු ය. ‘‘වදිනු’’ යයි කී විට පැන්න යුතු ය.
4. ‘මෙසේ විසි වරක් කළ පසු මෙතෙක් පහර ලැබුයේ පහර දෙන්නට යන්නේ ය.’
5. ‘මේ නීති කඩ කළේ එකෙණෙහි ම පැරැදුණේ වෙයි.’

'පළමු කොට පහර දෙන්නේ කවරෙක් ද ?'යි සොයා-ගැනීමට හිවල්හාමි කොළයක් ගෙන උඩ දැමී ය. කොටි රාලහාමි ඉල්ලූයේ ඇතුළ පැත්ත යි. හිවල් හාමි උඩ දැමූ කොළය අවුත් බිම වැටුණේ ය. උඩට හැරී තුබුණේ ඇතුළ පැත්ත ය. එ හෙයින් කොටි රාලහාමි පහර දෙන්නට සැරැසී ගස උඩට නැඟී සිටියේ ය. කටුසු හාමි ඔහු ඉදිරියෙහි බිම සිටියේ ය.

'වදිනු' යයි හිවල් හාමි මහ හඬ නැඟී ය. කොටි රාලහාමි ගොරවා–ගෙන කටුසු හාමි ගේ ඇඟ උඩට පැන්නේ ය; බිම පහුරු ගෑවේ ය. නැටුවේ ය; පස් විකුවේ ය, කටුසු හාමි සුනු විසුනු වන්නට ඇතැයි සිතා මහත් කොට සිනාසුණේය.

'නවතිනු' යයි හිවල් හාමි මහ හඬ නැඟී ය. කොටි රාලහාමි ගස උඩට ගොස්, 'කටුසු හාමි ගේ කැබැලි කොහිද්ද' යි බැලී ය. කවර කැබැලි ද ? මේ කටුසුහාමි උන්නා වගේ ම ඉන්නේ.

හිවල්හාමිගේ ඇණැවීමේ පරිදි කොටි රාලහාමි යළිත් පැන්නේ ය, යළිදු කරකැවුණේ ය. යළිදු නැටුවේ ය. එහෙත් ගස උඩ නැඟී බැලූ කල කටුසු හාමි හුන් වන ම හිඳිනු දුටුවේ ය. 'කවර දුමයෙක් ද' යි කොටි රාලහාමි සිතන්නට විය.

'මෙසේ විසි වරක් ම පහර දුන් නමුත් කටුසුහාමි ගේ නහුට නැමීම පමණකුත් කළ නොහැකි විය.

කටුසුහාමි පහර දෙන වාරය පැමිණියේ ය. හේ ගස උඩ නැගී 'මෙහි එව, මෙහි එව' යයි කියන්නාක් මෙන් හිස වනන්නට විය. කොටි රාලහාමි බිම සිටියේ ය.

'වදිනු' යනු ඇසෙනවාත් සමඟ ම කොටි රාලහාමි තදින් ඇස පියා-ගත්තේ ය, කට පියා ගත්තේ ය. කටුසුහාමි සෙමෙන් බිමට පැන සෙමෙන් කොටි රාලහාමිට ළංව, හොඳට බලා, ඇස ළඟ විකී ය, කන විකී ය. කිසිලි විකී ය. කොටි රාලහාමි වේදනාව ඉවසා–ගත නො හී ඇඟ නැටැවී ය. එහෙත් පරදින්නට බියෙන් ඇස ද කට ද පියා–ගෙන ම සිටියේ ය.



'නවතිනු' යන්න හිවල් මුවින් පිට විය. කටුසු හාමි ගස උඩට වන්නේ ය. කොටි රාලහාමි මඳක් ඇස හැරී ය. මහත් කොට මුව අයා වේදනායෙන් හඬ නැඟී ය.

දස වරක් පමණ මේ පහර වැදීමෙන් කොටි රාලහාමි ගේ ධෛර්‍ය්‍යය ගෙවී-ගියේ ය.

'දැන් විසි වර නො පිරුණේ ද' යි හේ අසන්නට විය. හිවල්හාමි ඔහු නළවන්නට උත්සාහ කෙළේ ය.

'නෑ, රාලහාමි තව ම දහ වරයි.'

'නෑ, නෑ. විසි වරටත් වැඩියි හිවල්හාමි බොරු කියන්නේ.'

'රාලහාමි, මා බොරු කියන්නේ නෑ. රාලහාමිට අමාරු නම් ඇත්ත කියන්න. හටන නවත්වන්නට පිළිවනි.'

'මට අමාරු නෑ.'

'වදිනු.'

කටුසුහාමි පැන්නේ ය. කොටි රාලහාමි ද උන් තැනින් අහකට පැන ගොරවමින් වනය මැදින් දුවන්නට විය.

16. පරිච්ඡේදය

# රහස එළි වීම

කොටි රාලහාමි පස්සවත් නොබලා දිව ගොස් ගම අද්දර ගස-කට නැඟී අතීතය බලන්නට පටන්-ගත්තේය. ඔහු ගේ ඇසි පිය ගැසීම පවා දුන් අමාරු ය. කීප වරක් ම කනේ කැසිල්ල ඇති වූ නමුත් කනට අත ඔසවන්නට සිතූ තරමින් ම වේදනා දූනේ. කිසිලි අස්සේ රතු වූ තැන් කිහිපයෙකි.

'අනේ, අනේ, අනේ! කලියුගයේ හැටි! ඇසත් කටුසු හාමි කෑවා! කනත් කටුසු හාමි කෑවා! කිසිල්ලත් කටුසු හාමි කෑවා! එහෙම වුණත් මම කොටි රාලහාමි! ඒ නිකම් ම කටුසු හාමි! මගේ සුවඳ දුනුණු කල මහ ගෝන්නු, තඩි ගෝණුහු, තියුණු අං ඇති මුවෝ අසෙලක වත් නො සිට පැන දුවති. මම නිවට කටුසු හාමිට බියෙන් කැලය බිඳ-ගෙන දිව-ගෙන ආයෙමි.'

'ඉතින් මා කෙසේ ගෙදර යන්නට ද ? හාමිනේට කුමක් කියන්නට ද ? ගොදුරක් සොයා ගන්නට වත්

කෙසේ එළියට එන්නට ද? ඉතින් මා ඉන්නේ කුමකට ද ?'

මෙසේ කියන කොටි රාලහාමිට නිකම් ම ඇඬුණේ ය. ඔහු ගේ දෑසින් කඳුළු කඩා හැලෙන්නට විය; කට හොඳට ම පළල් විය; නාසයෙන් සොටු ද ගලන්නට විය.

මේ අස්සේ ගස මුදුනින් මහ සිනාවක් ඇසී කොටි රාලහාමිට උඩ බැලුණේ ය. ළමයි දෙදෙනෙක් ගස මුදුනේ හයින් මිරිකී හිඳිති. හයත් මතක නැතිව උන් සිනාසුණේ කොටි රාලහාමි ගේ හැඬීමට ය.

කොටි රාලහාමි හැඬීම වහාම නැවැත්විය. පළමු කොට ම ඔහුට ළමයින් මරා කන්නට සිතුණේ ය. ඉක්බිති යස සිතිවිල්ලෙක් උපන්නේ ය. එනම් කටුසු හාමි ගෙන් පළිගන්නා සිතිවිල්ල ය. තමනට වූ අවුල ළමයිනට දැනෙන්නට ඇත් දෙහොයි සිතීමෙන් වූ ලජ්ජාව නො පෙන්නා කොටි රාලහාමි දෙඩන්නට වූයේ ය.

'ඔබ මෙහි කුමක් කරනවා ද ?'

වැඩි මහලු ළමයා බියෙන් බියෙන් දෙඩුවේ ය.

'නිකම් ඉන්නවා.'

'මා අඳුනනවා ද ?'

'අඳුනනවා.'

'අඳුනනවා නම් මා කියන දේ කරනවා ද ? නැත්නම් දෙන්නා ම අල්ලලා–ගෙන කනවා.'

'අනේ, කියන දෙයක් කරනවා. අප මරන්නට එපා.'

'කටුසුහාමි අඳුනනවා ද ?'

'අඳුනනවා.'

'ඌ මරා දමන්නට පුළුවන් ද ?'

'පුළුවනි, පුළුවනි. එක ගල් පාරින් මරා, දමන්නට පුළුවනි.'

'එහෙනම් මරා දමනවා ද ?'

'ඔව්, ඔව්, මරා දමනවා.'

'මා අඬඅඬා දූන් කියා–පු දේ ඇසුණා ද ?

'ඔව්.'

රාලහාමි ගොරවන්නට වූයේ ය.

''නෑ, නෑ. ඇසුණේ නෑ''යි ළමයි දෙදෙනා ම කීහ.

'එහෙ නම් ''ඇසුනා ය' කීවේ ?''

'ඒ නිකම් කියැවුණා.'

'හොඳයි. ඇසුණත් කාටවත් කියන්නට නම් එපා. කිව්වොත් දෙන්නට ම යන කල දන්නවා නොවැ ?'

'අනේ ඇහුණෙත් නෑ. කාට වත් කියන්නෙත් නෑ.'

'හොඳ. අසු වුණ හැටියේ ම කටුසු හාමි මරා දමන්නට ඕනෑ.'

'හොඳ මයි.'

කොටි රාලහාමි ගසින් බැස ගියේ ය. ඔහු බොහෝ ඈත ගිය පසු ළමයි දෙදෙන ගසින් බැස ගෙදර දිවුවෝ ය. කොටි රාලහාමි ගේ තර්ජනය ඔවුනට ගෙදර දී නොමතක වී ය.

'අම්මේ කාරණයක් දන්නවා ද ?'

'කවර කාරණයෙක් ද පුතා ?'

'කොටියා කටුස්සාට බය නොවැ ?'

'බොරු කියන්නට එපා.'

'අම්මේ නිකම් ඉන්න. කොටියා ම කීවා.'

'කුමක් කීවා ද ?'

'කොටියාගේ ඇසත් කටුස්සා කෑවා ය, කනත් කටුස්සා කෑවා ය. කිහිල්ලත් කටුස්සා කෑවා ය කීවා. කියා හොඳට ම ඇඬුවා.'

'කොහි දී ද ?'

'අප දෙන්නා ගසක් උඩ උන්නා. කොටියා ගසට නැඟී ඉඳ-ගෙන එසේ කියා ඇඬුවා.'

'ඔබ බය වුණේ නැද්ද ?'

'හොඳටම බය වුණා. 'කටුස්සා මරනවා'යි කියා යන්තම් බේරී ආවා.'

අම්මා හොඳට ම සිනාසුණා ය. ළමයින් ගේ පියා ද මේ කථාව අසා සිනාසුණේ ය. කුස්සි අම්මා සිනා සිසී ගොස් ගොන් හාමිට කී ය. ගොන් හාමිට එද පිදුරු එපා විය. සිනායෙන් ම දවස ගෙවුණේ ය. බලු හාමි ගොන් හාමි ගෙන් කථාව අසා සිනාව නවතා–ගන්නට බැරි ව කහින්නට-පටන් ගත්තේ ය. කැහැ කැහැ ගොස් බළල් හාමිට කථාව කියේ ය. බළල් හාමි ඒ කථාව විශ්වාස නො කෙළේ ය.

'කොටි රාලහාමි කටුසු හාමිට බය යි? නැ, නැ. මට විශ්වාස කරන්නට බැහැ. කටුසු හාමි කවරෙක් ද ? කොටි රාලහාමි කවරෙක් ද ? කොටි රාලහාමි සිටියදෙන්. කටුසු හාමි අපට කො–පමණ බය ද ? මතක නැද්ද, අපේ හාමිනේ අර එකකු අල්ලා–ගෙන කෑ හැටි! කාලා කාස රෝගය හැදී කෙට්ටු වුන සැටි ? කෙට්ටු කෙනෙකුන් දුටුවා ම ''කටුස්සන් කාපු බැළලි වගේ'' ය කියන්නට පටන්–ගත් සැටි ? ඉතින් එබඳු නිවට කටුසු හාමිට කොටි රාලහාමි බය වේ ද ?'

බලු හාමි කථාව සම්පූර්ණ සත්‍යයක් බව තදින් ම කියා සිටියේ ය. එය අසන්නට ලැබුණු සැටි ද කීය. බළල් හාමි පුදුමයට පැමිණියේ ය.

'කොටි රාලහාමි බොහෝ ම නපුරු යි. කළ ගුණ දන්නේ නැ. ඒ ගතිය නිසා මෙ වැනි විපත්තියක්

වුණා දැයි මා දන්නේ නෑ. එහෙත් විශ්වාස කරන්නට ඉතා ම අමාරුයි.'

'ඇයි කොටි රාලහාමි කළ ගුණ දන්නේ නැත කියන්නේ ?'

'ඔහුට ගස් යන සැටි ඉගැන්නුවේ අපේ පියා, නඟින්නට ඉගැන්නුවා විනා බහින්නට ඉගැන්නුවේ නැත කියා ඔහු අපේ පියා මරා ගලක් උඩ තබා කොළ ගොඩෙකින් වැසුවා. ඉතින් බලන්න, කොතරම් දරුණෙක් ද කියා.'

ගසෙක සිට මොවුන් ගේ කථාව අසා සිටි ලේන හාමි 'ටිං ටිං' ගාමින් සිනා සිසී ගස් දෙසිය පනහෙක මුදුනින් පැන-ගෙන ගොස් කැලේ මැද විල ළඟ ගසෙක නැවැතී සිනා සිසී ම පෙරළෙන්නට වීය. විලේ සිටි ඉදිබු හාමි මෙය දැක 'ලේන හාමිට පිස්සු ද ?'යි ඇසී ය. ලේන හාමි සියලු කථාව ඉදිබු හාමිට කීයේ ය. ඉදිබු හාමි දියේ දී ම සිනා සී මොළ අස්සේ දිය ගොස්, මහත් අමාරුවට පැමිණියේ ය.

එද ඉදිබු හාමිට නින්දෙක් නැත. කොටි රාලහාමි, වෙන කොහි නො ගියත්, රෑ විල ළඟට එන බව හේ දනී. ඒ හෙයින් බලා සිටියේ ය. ඉදිබු හාමිනේ ධූමග කතාව කියමින් සිනා සිසී සිටියේ ය.

මහ රෑ මේ එන්නේ කොටි රාලහාමි. ඉදිබු හාමි කථාව නවත්වා, සිනාව නවත්වා, ඉදිරියට අවුත් ආචාර කෙළේ ය.

'ආයුබෝවන්, රාල හාමි.'

'ආයුබෝවන්, ඉදිබූ හාමි.'

'රාලහාමිට මහ අවුලක් වුණා ය කියන්නේ ?'

කොටි රාලහාමි ගැස්සී සිටියේ ය. ඒ බව සඟවන්නට මහ සිනාවක් සී 'කවර අවුලෙක් දූ ?'යි ඇසී ය.

'රාලහාමි කටුසු හාමිට බයේ දිවුවා ය, කියන්නේ ?'

'කටුසු හාමිට බයේ? කවරෙක් ද එය කීවේ ?'

'ලේන හාමි කීවා'

'ඔහුට කීවේ ?'

'ඒ නම් මහ දිග කතාවක්, රාලහාමි ලේන හාමි, බලු හාමිත් බළල් හාමිත් දෙඩනවා අසා සිටියා. බලු හාමිට කීයේ ගොන් හාමි, කුස්සියේ අම්මා ගොන් හාමිට කීවා. ගොවි ගෙදර හාමිනේ ගොවි හාමිට කියනවා කුස්සියේ අම්මාට ඇසුණා. ගෙදර ළමයින් දෙන්නා ගොවි හාමිනේට කථාව කීවා.'

කොටි රාලහාමි කෝපයෙන් පුපුරන්නට විය. මේ ප්‍රවෘත්ති පැතුරුණු සැටි ඔහුට හොඳ හැටි තේරුණේ ය. හේ බසක් නොකියා පැනුත් නො බී ම හැරුණේ ය.

17. පරිච්ඡේදය

# අනින්නාට ඇනීම

එද මහ සභායෙහි සිට උමතුව මෙන් දිවූ අලි රාලහාමි කීප දිනක් ම ගෙදරින් බැහැර නො ගොස් සිටියේය. හිවල් හාමි පමණක් සුව දුක් විචාරන්නට යෙයි. සුව දුක් විචාරා නවත් කාරණයක් මතක් කෙරෙයි. එනම් ගුරු පඬුරු ය.

'අනේ, රාලහාමි, මට ලැබිය යුතු දෙයක් නම් මා මෙය මතක් කරන්නේ වත් නෑ. මතක් කිරීම තබා මේ දිසාවට මා එන්නේ වත් නෑ. මගේ ගුරුතුමාගෙන් මට ගැලැවිල්ලෙක් නෑ. මා රාලහාමි දකින්නට එන්නේ හොඳට වැඩි වුණොත් දවසකට එක සැරය යි. එහෙත් අපේ ගුරුතුමා මේ නිසා ම අපේ ගෙදරට එන්නේ, ඉතා ම අඩු වුණොත් දවසකට සැරයයි. ඉතින් බලන්න, රාලහාමි, කෙසේ ඉවසා-ගෙන ඉන්නට ද කියා.'

'ගුරුතුමා අපේ ගෙදරට ඇවිත් නිකම් ම යනවා ද, රාලහාමි ? ඒ වේලාවට තුබුණු දෙයක් කනවා, තුබුණු දෙයක් බොනවා, මට හොඳට ම අවලාද කියනවා, මගේ හාමිනේටත් නඩුව

කියනවා. කී දේ ම පෙරළ–පෙරළා කියනවා. එසේ කියා යන ගමනේ අසු වුණු දෙයක් ඇරගෙන යනවා. මඳක් නැන් ගොස් හැරී බලා 'නොකීවා ය, කියන්නට එපා. මගේ හොඳ හොඳටයි. නරකට මා වාගේ නරක එකකු සොයා–ගන්නටත් බැහැ. ඒ නිසා මේ ගනු දෙනුව ඉක්මනට බේරා දෙන්නට හොඳයි යනු කියා රවා ගොරවා යනවා.'

'ඒ නිකමට කියනවා නො වෙයි, රාලහාමි, අපේ ගුරුතුමා අලි කොඩි වින කාරයා. මගේ මුළු පවුල ම විනාශ වෙන්නට කොඩි විනයක් කරන්නට ඔහුට බැරි නෑ. එසේ කළත් කමෙක් නෑ. මට තිබෙන්නේ එක බයයි. එය මතක් වන විට වෙවුලනවා. මගේ පපුව නිකම් ම ගැහෙනවා.'

'කවර බයෙක් ද, හිවල් හාමි ?'

'අනේ මට එය රාලහාමිට කියන්නටත් බය යි.'

'නෑ නෑ, හිවල් හාමි කියන්න. මා එය දැනගන්නට ඕනෑ.'

'අනේ, කුමකට ද රාලහාමි ?'

'එය දැන–ගන්නට ම ඕනෑ හිවල් හාමි.'

'මේ ගනුදෙනුව ඉක්මනට නොබේරුවහොත් මගේ පවුලත් වනසා, රාලහාමිටත් අන්තරායක් කරන්නට බැරි නො වේ.'

'මට කුමක් කරන්නට ද හිවල් හාමි ?'

'මේ වර රාලහාමි ගේ නාසයේ කබල්ලෑවකු යවන්නට ගුරු කමක් කොළොත් ?'

රාලහාමිට හීන් ඩා දිය දමන්නට පටන් ගත්තේ ය. දූන්ම කබල්ලෑවා නාසයට වැදුණු ලෙසක් දැණුණේ ය. රාලහාමි පළමු කොට හොඩ හැකි තරම් දික් කොට තදින් පිම්බෙ ය; ඉක්බිති එය හකුලා ගත්තේ ය. වට පිට කිහිප වරක් ම බැලී ය. විනාඩි කිහිපයකට පසු මෙසේ කීයේ ය:—

'හිවල් හාමි, හෙට එළිවන්නට පළමු මා ගොස් එළු පැටවුන් දෙන්නා කෙසේ නමුත් ගෙනෙනවා. දවල් නොවැ මට යන්නට බැරි ? මා යනවා රෑ එළිවන්නට පැයකට දෙකකට පළමු.'

'මාත් එන්නට ද, රාලහාමි, එක එළු පැටවකු දක්කා-ගෙන එන්නට ?'

'හා, හොඳ'

හිවල් හාමි අලි රාලහාමිට ආචාර කොට ඉතා සතුටු සිතින් ගෙදර යන්නට නික්මුණේ ය.

'හෙට නම් ළා එළු මස් කනවා කනවා මයි. එළු පැටවුන් දෙන්නා ම ගෙදර ගෙන යන්නේ නෑ. ගෙන ගියොත් එක දවසට මදි වෙයි. එකකු කැලයේ සඟවා එකකු ගෙන යනවා. ඌ හෙට කා, පසු දවසේ අනෙකා කනවා මේ ගෙදර යන හිවල් හාමිට පහළ වූ සිතිවිලි යි. ඔහු ගේ කට ද නෙත් විය.'

තමා ගේ රහස එළි වූ බව කොටි රාලහාමිට ඉදිබු හාමි ගෙන් දූන-ගන්නට ලැබුණේ ද එ ද මය. පැන් නොබී ම කොටි රාලහාමි ගොවි ගෙදර දිසාවට

ගියේ ය. කැලය අයිනේ සිට එබී බැලූ නමුත් කිසිවෙක් පෙනෙන්නට නො සිටියෝ ය. කොටි රාලහාමි කිහිප වරක් ම ගෙට යන්නට ගොස් හැරී ආයේ ය. එබඳු ගමනක් මින් පෙර හේ නොගියේ ය. එහෙයින් යන්නට සැක ය.

බලු හාමි වරින් වර නැඟී අවුත් රාලහාමිට ම සැර පාන්නා සේ බුරා යයි. කොටි රාලහාමිට බලු හාමි එතරම් කාරණයෙක් නොවේ. බලු හාමිගේ හඬට ගෙදර මිනිසුන් අවදි වුව හොත් කරදර පැමිණිය හැකි ය. එය යි සැකයට කාරණය. එහෙයින් කොටි රාලහාමි රැයින් වැඩි කාලය ඒ මේ අත යමින් පසු කෙළේ ය.

කොටි රාල හාමි ගේ පිපාසය දූන් අන්තිම සීමාවට ගියේ ය. බඩගින්න ද අන්තිම සීමාවට ගියේ ය; කෝපය අන්තිම සීමාවට ගියේ ය. නොඉවැසිල්ල ඉතුත් ඔබ්බට ගියේ ය, දූන් සැක සිත–සිතා ලැගෙන වේලාවෙක් නො වේ. එද රැ පළමු වන කුකුළා ගේ තටු කවර මොහොතේ ''සට පට '' ගා දූයි කිය නොහැකි ය. එහෙයින් කොටි රාලහාමි 'පස්සට නොතබමි' යන ස්ථිර අධිෂ්ඨානයෙන් පය පෙරට තිබී ය.

දූන් කොටි රාලහාමි ගේ පා හතරම පෙරට යෙයි, පෙරටම යෙයි. වැට ඉදිරියට පැමිණියේ ය. කොටි රාලහාමිගේ හතර පයට ඒත් කාරියෙක් ද ? දූන් හතර පය වැට ද පසු කොට බඹ ගණනක් ම

එපිට ය. බලු හාමි ගේ වගක් වත් දූන් නැත. තුබුණ ද ගණනකට නො ගන්නට සිතා-ගත් කොටි රාලහාමිගේ සතරපය බලු හාමිවරුන් දහසක් දූක ද පස්සට නො යෙයි.

කොටි රාලහාමි ගේ සතර පය දූන් ගොවි ගෙදර මිදුලේ ය, දූන් ගෙයි ඉදිරි පිලේ ය, ඒ කොනෙහි තුබූ කූඩා ඇඳෙහි දෙන්නෙක් නිදති. කොටි රාලහාමි ගේ තියුණු ඇස එක වර ම ඔවුන් ඇඳින්නේ ය. සතර පය ඇඳ උඩට නඟන්නට සැරසුණා පමණෙකි. හිසට හොඳ කල්පනාවෙක් පැමිණියේ ය.

'මෙතැන දීම මුන් මරා කෑම නො හොබී. මුන් කළ චපල කමට හොඳ වචනයක් දෙකක් කියා මගේ තරම හඟවා මුන් මරා කමි. හතුරා වුවත් හොරෙන් මැරීම මහ නිවට කමෙකි. මම මුන් ඇඳ පිටින් ම උස්සා-ගෙන කැලයට යෙමි.'

මේ කල්පනාව හිසට නැඟෙනවාත් සමඟ ම කොටි රාලහාමි ඇඳ යටට ඇදුණේ ය. හිස ඇඳට දුන්නේ ය. ඇඳ අහසින් යන්නට මෙන් සෙමෙන් සෙමෙන් නැඟෙන්නට විය. කොටි රාලහාමි දෙ අතින් ඇඳේ දෙ පැත්ත අල්ලා-ගෙන එය නිසල කොට දෙපයින් යන්නට වන.

වාසනාවකට මෙන් ඒ වර කොටි රාලහාමිට හමු වූයේ වැටේ ඉඳි කඩුල්ල තුබුණ තැන ය. රාල හාමි



සෙමෙන් ඇඳ බිම තිබී ය. සෙමෙන් කඩුල්ලේ පොලු ඇද–දැමී ය. සෙමෙන් ඇඳ යළිත් හිසට දින, සෙමෙන් ම දෙ පය නැඟී ය. දැන් ඇඳ වන මැද්දෙහි කොටි හිස පිටින් ගමන් කෙරෙයි.

අතු අගක් ඇහෙහි වැදීමෙන් බාල ළමයා අවදි විය. කවර පුදුමයෙක් ද? ඇඳ යෙයි. මහත් කොට හඬ නඟන්නට පෙර ළමයා සිතා බැලී ය. ඇඳ දෙපස කොටි අත් දෙක ඔහුට පෙනෙයි. නිදන ආර්යයා (අයියා) ඔහුට පෙනෙයි. කාරණය ඔහුට දැන් පැහැදිලි ය. එ හෙයින් නිහඬ ව ළංවූ ගසෙක අතු අගෙක එල්ලෙමින් ආර්යයාට, පයින් සත් කොට, ගස මුදුනට ඇදුණේ ය. ඉතිරි ළමයා ද

කාරණය හොඳ හැටි තේරුම් ගත්තේ ය. මල් බැයා කළ සැටි හේ නො දනී. එහෙත් පණ බේරා-ගැනීමට කැමැති කාට වුවත් එ වේලෙහි කළ යුතු සේ පෙනෙනුයේ එක ය. එනම් කුඩා ළමයා කළ සේ ගසකට නැඟීම ය. එ හෙයින් ලොකු ළමයා ද තමාට වාරය පැමිණෙන තෙක් බලා සිට, අතු අගත් අල්ලා-ගෙන ගසකට නැගුණේ ය.

කොටි රාලහාමි ගේ පිපාසයේ අඩුවෙක් නැත, බඩ සායේ අඩුවෙක් නැත. කෝපයේ අඩුවෙක් නැත. එ හෙයින් ඇඳ උඩ බරේ අඩුව ඔහුට නො දූනේ. නැහෙන සූර්යයා වන සතුන් බඳින්නට මෙන් දුවවන රස් රැහැන් අතු අස්සෙන් කොළ අස්සෙන් යනු ද පෙනේ. ඒ වනයේ මැද එළිමහනෙකි, ඉදිරියට පැමිණියේ. කොටි රාලහාමි ඇඳ බිම හෙළා ගොරවා-ගෙන එය උඩට පැන්නේ ය.

අහෝ, අභාග්‍යයෙකි! කොහි ද ළමයි ? තමා ඇඳ හිස පිට ගන්නා විට ළමයින් ඇඳෙහි ම හොත් බවට කොටි රාලහාමිට මඳ වූ ද සැකයෙක් නැති. එහෙත් දූන් ?

සිදු වූයේ කිමෙක් දූයි සිතා-ගැනීම කොටි රාලහාමිට අමාරු නොවේ. එහෙයින් හේ ගස් උඩ බලමින් ආ පාරේ ම සෙමෙන් සෙමෙන් යන්නට වන්නේ ය.

මඳ තැනක් යන විට අලි රාලහාමි දක්නට ලැබිණ. හේ හිවල් හාමිට යම් කිසිවක් කියමින් සිටියේ ය. කොටි රාලහාමිට එක් වර ම හැරී දිවෙන්ට සිත් විය. එහෙත් එයට ඉඩ නො

ඇඹුණේ ය. 'අර කොටි රාලහාමි' යැයි හිවල් හාමි හඬ නගා කී ය. කොටි රාලහාමි ඉතා නො කැමැත්තෙන්ම ඉදිරියට අවුත් අලි රාලහාමිට ආචාර කොට සිටියේ ය. බසක් කියන්නෙක් එහි නැත. කොටි රාලහාමි කෝපයෙන්, පිපිරෙයි. අලි රාලහාමි ලජ්ජායෙන් හැකිළෙයි. හිවල් හාමි හොඳුවැසිල්ලෙන් කරකැවෙයි.

කරකැවෙමින් වට පිට බලන හිවල් හාමිට ගස උඩ උන් ළමයෙක් පෙනිණි. 'ඒ කවරෙක් ද?' යි කියමින් හිවල් හාමි ඔහු දක්වීය. ළමයා දුටු කොටි රාලහාමි අලි රාලහාමින් මතක නැති කොට, හිවල් හාමින් මතක නැති කොට, –තමාද මතක නැති කොට ගොරවා ගෙන ගසට පැන්නේ ය. මහත් හයට–පැමිණි ළමයා.

'කටුස්සා, කටුස්සා, කටුස්සා'යැයි කියමින් මහ හඬ නැඟී ය.

කොටි රාලහාමිට හොඳ සිහිය ආයේ ය. ඒ හෙයින් මහත් ආදරයක් දක්වමින්, 'පුතේ, මගේ හොඳ පුතා ටිකක් අල්ලා ගන්න. මහාතෙනක් අල්ලා–ගන්න'යි කියමින් ගසින් බිමට පැන තිසින් නො බලා දිවි ය.

අලි රාලහාමිට මුළු ලොව මතක නැති විය. හේ එක් වර ම දුවන්නට මහත් වේගයෙන් හැරුණේ ය. එක් පැත්තෙකින් ගසට පිට දී උන් හිවල් හාමිට අලි රාලහාමිගේ දළ ලැබුණේ එවිට ය. එක් දළෙක



හිවල් හාමි ඇමුණුණේ ය. අලි රාලහාමි ඒ වගක් නො දැන කැලය පොඩි කෙරෙමින් දිව් ය. දළෙහි හිවල් හාමි ඇමිණී උන් බව පෙනුණේ අලි රාලහාමි ගෙදරට අවුත් හති හරින විට ය.

බඳ පළා–ගෙන ගිය දළෙහි හුන් හිවල් හාමි, අන්තිම බැල්ම අලි රාලහාමිට හෙළා, 'අනේ, රාලහාමි, අර එළු පැටවුන් දෙන්නා අපේ හාමිනේට දෙන්නැ'යි කී ය.

# මුනිදස කුමාරතුංග



රුහුණු පුරවරය සිය නිජ බිම කරගනිමින් 1887 ජූලි මස 25 වනදා මුනිදාස කුමාරතුංගයන් මාතර දික්වැල්ලේ දී උපත ලැබී ය. දොන් අබියෙස් කුමාරණතුංග මහතා සහ ගිමාරා මුතුකුමාරණ මහත්මිය මොහු ගේ දෙමාපියෝ වූහ.

ඔහු දික්වැල්ලේ බෞද්ධ පාසලෙන් මූලික අධ්‍යාපනය ලැබී ය. ධෛර්‍යය හා අධිෂ්ඨාන සහගත සැලසුම අනුව 1909 දී මුල් ගුරුවරයකු වශයෙන් කඩුගන්නා ප්‍රදේශයේ පාසලකට මුල්ම පත්වීම ලබා ගියේ ය. කැපවීමෙන් හා උනන්දුවෙන් තම අධ්‍යාපන කටයුතු දියුණු කරගත් එතුමාට 1917 වන විට පාඨශාලා පරීක්ෂක තනතුර දක්වා උසස් වීමට අවස්ථාව ලැබිණ.

ජාතික චින්තනය, නිදහස පිළිබඳ දැඩි හැඟීමකින් ක්‍රියා කළ එතුමා සිය පෑන හා හෙළ බස අවියක් කර ගනිමින් අධිරාජ්‍ය විරෝධී හැඟීම් ජනතාව තුළ පුබුදු කිරීමට සමත් විය.

**හත්පණ, මගුල් කෑම, හීන්සැරය හා කුමර ගී**, වැනි ළමා කෘති රාශියක් කළ එතුමා විරිත් වැකිය, ක්‍රියා විවරණය වැනි සිංහල ව්‍යාකරණ ග්‍රන්ථවලින් හෙළ බස හා වියරණයට නව පණක් ලබා දුන් අතර මෑත යුගයේ බිහි වූ ශ්‍රේෂ්ඨතම ජාතික වීරයින් අතරින් කෙනෙකි.

කුමාරතුංග මුනිදස ශූරීන් 1944 මාර්තු 2 වනද අභාවප්‍රාප්ත වුවද අඩසිය වසක් පමණ කාලයක් තුල දී ඔහු විසින් කරන ලද මහඟු සේවය මතු පරපුර විසින් සදා සමරනු ඇත.



ISBN - 955 - 21 - 0103 - 4

මිල රු. 48.50 යි.